2. යස්සරීක තරො නාථො - කේතුමාලාය ලංකතෝ
දක්ඛිණාවත්ත කෙසෝසී - නිලා මල සිරෝරුහො
නමො ශ්‍රී ගති ශ්‍රී වාං ශ්‍රී බුද්ධරාජෙ ස්වාහං

(රන්දෙණ වැහුණු ගාථාවත් සමගයි.)

(මෙයින් ත්‍රිවිධ වශියට නැඹුල් බුලත් මතුරා දෙනු. සර්පවිෂට මතුරනු. කකුල් දෙකට මතුරනු. සර්පයෝ නොකත්. බල්ලා කැවාට තෙල් මතුරනු. උණට ද, බඩේ රුජාවටද මතුරනු.)

3. උණ්හීස සිසො රුචිරෝ - පරිපූණ්ණ සිරෝ වරෝ
අනො ලෝකිය මුද්ධාසි - සුගන්ධවර මුද්ධනෝ

(මෙයින් විෂ කැවුණාට ද, තුන්දොස් බැඳුන්වලට ද, මැස්වැලකුම් හිර කෙරුම් යනාදි කැපීමට ද හොඳයි. යකුන් ආරූඪ වූ අයට මතුරා පිඹිනු. වැටේ.)

4. උණ්හීස රුචිරෝදාර - ලලාටතල සෝභිතෝ
මුදුතුලාති හෝදත - උණ්ණ මණ්ඩල මණ්ඩිතෝ
නමෝ රාජගුරු, සූරගුරුබෝධි මණ්ඩලෙස්වාහඃ

(ධාතු මංගල්‍ය පැවැත්වූ ගාථාවත් සමගයි. මෙයින් නැව්වුවාට ප්‍රලය නොවන්නට වීදියේ ගොක්කොළයට මතුරා ගැට ගසනු. වස්තු පෙට්ටිවල දැමීමට ද, වී අටුවල දැමීමට ද දරුවන් දොරට වැඩීමට ද දරුවන්ට ඉඳුල්කට ගැමට ද යහපති.)

5. ඉන්දවාපනී හෝනීල - හුතටාක සුසජ්ජිතෝ
කකද්වනං කුසංගංකාස - තුංග නාසෝ විරෝචති

i. වස විස කැවුනාට බත්පිඩු මතුරා ගිලිනු.

ii. යක්ෂ දෝෂ මූර්ජාවට පැන් මතුරා ඉසිනු.

iii. අංගම් පිල්ලි යක්ෂ දිෂ්ටි හොල්මන්වලට පැන් මතුරා ඉසිනු.

iv. උළුක්කුවට තෙල් කිරි මතුරනු. සර්ප විෂට මතුරනු.

v. අජීර්ණයට ඇඹුල් මතුරනු.

6. ලොචනද්වය මාහාති - පකද්වවණ්ණ සමුජ්ජලං
දේහදේව විමානම්හි - මණිජාලුප මුත්තමං
ඕං කුරු කුරු දලේස්වාහඃ ගාථාවන් සමගයි.

(මෙයින් වස් දොස් දුරු කිරීමට ද සියලු භය උන්මාද, අපස්මරා, අතීසාර, බඩේ රුජාදියට ද බෙහෙත් පැන් මතුරා පොවනු.)

7. රංසීමාල නමෝ තුය්හං - බුද්ධ සේනාධිපකද්ජරං
එවං තං බුද්ධ ජානාථ - බුද්ධංදස විලෝචනං
තවසාරි ච සෝගතං - උණ්හයරිච තිබ්බුතිං
සුවණ්ණතෝ පතිතං නාග - කෝහිංසි යාය නායකා
ඕං කුරු කුරු ජ්ස්වාහඃ ඕං නමෝ ශ්‍රී ජ්ස්වාහඃ

(රංසිමාල යන ගාථා සියල්ලට ම ඇතුළත් ගාථාවයි. මෙයින් ගල් මතුරා කෙතට දමනු. ආරක්ෂාවයි. එසේම පට්ටියේ වළලනු. ගවයෝ බෝවෙත්. දිවියා නාල්ලයි. ගැට හීර කපනු. මෙයින් තීන්දු ක්‍රියා කරනු.)

# පිරිත් සූත්‍රයන්හි ආරම්භක ගාථා

## දසධම්ම සූත්‍රය

භික්ඛූනං ගුණසංයුත්තං - යං දේසෙසි මහාමුනි
යං සුත්වා පටිපජ්ජන්තො - සබ්බදුක්ඛා පමුච්චති

## මහාමංගල සූත්‍රය

යං මංගල ද්වාදසසු - චින්තයිංසු සදේවකා
සොත්ථානං නාධිගච්ඡන්ති- අට්ඨතිංසඤ්ච මංගලං
දේසිතං දේව දේවේන - සබ්බ පාප විනාසනං
සබ්බලෝක හිතත්ථාය - පරිත්තං තං භණාමහෙ

## රතන සූත්‍රය

කෝටිසත සහස්සේසු - චක්කවාලේසු දේවතා
යස්සාණං පතිගණ්හන්ති - යංච වේසාලියං පුරේ
රෝගා මනුස්ස දුබ්භික්ඛ - සම්භූතං තිවිධං භයං
ඛිප්පමන්තරධාපේසි - පරිත්තං තං භණාමහේ

## කරණීය මෙත්ත සූත්‍රය

යස්සානුභාවතෝ යක්ඛා - නේවදස්සෙන්ති භිංසනං
යම්හිචෙවානු යුඤ්ජන්තො-රත්තින්දිව මතන්දිතෙව

සුඛං සුපති සුත්තෝච - පාපං කිඤ්චි නපස්සති
එවමාදි ගුණෝපේතං - පරිත්තං තං භණාමහේ

## ඛන්ධ පරිත්තය

සබ්බාසි විසජාතීනං-දිබ්බමන්තා ගදං විය
යං නාසෙසි විසං ඝෝරං - සේසං චාපි පරිස්සයං
ආණක්ඛෙත්තම්හි සබ්බත්ථ-සබ්බදා සබ්බ පාණිනං
සබ්බසෝපි විනාසේති - පරිත්තං තං භණාමහේ

## මෙත්තානිසංස සූත්‍රය

අග්ගික්ඛන්ධෝපමං සුත්වා - ජාතසංවේග භික්ඛූනං
අස්සාදත්ථාය දේසේසි - යං පරිත්තං මහාමුනි
සබ්බලෝක හිතත්ථාය - පරිත්තං තං භණාමහේ

## මිත්තානිසංස සූත්‍රය

පූරෙන්තෝ බෝධිස්ම්භාරේ-නථෝ තේමිය ජාතියං
මිත්තානිසං යං ආහ - සුනන්දං නාම සාරථිං
සබ්බලෝකහිතත්ථාය - පරිත්තං තං භණාමහේ

## මෝර පරිත්තය

පූරෙන්තෝ බෝධිසම්භාරේ - නිබ්බත්තෝ මෝරයෝනියං
යේන සංවිහිතාරක්ඛං - මහා සත්තං වනේ චරා

චිරස්සං වායමන්තාපි - නේව සක්ඛිංසු ගණ්හිතුං
බ්‍රහ්ම මන්තනත්ති අක්ඛාතං - පරිත්තං තං භණාමහේ

## චන්ද පරිත්තය

රාහුනෝ ගහිතෝ චන්දෝ - මුත්තෝ යස්සානු භාවතෝ
සබ්බ වේරි භයං නාසං - පරිත්තං තං භණාමහේ

## සූරිය පරිත්තය

සූරියෝ රාහු ගහිතො - මුත්තෝ යස්සානුභාවතෝ
සබ්බ වේරි භයං නාසං - පරිත්තං තංභණාමහේ

## ධජග්ග පරිත්තය

යස්සානුස්සරණේනාපි - අන්තලික්ඛේපි පාණිනෝ
පතිට්ඨමධිගච්ඡන්ති - භූමියං විය සබ්බථා
සබ්බුපද්දව ජාලම්හා - යක්ඛ චොරාදි සම්භවා
ගණනා නච මුත්තානං - පරිත්තං තංභණාමහේ

## මහා කස්සපත්ථෙර බොජ්ඣංග පරිත්තය

යං මහා කස්සපත්ථෙරෝ - පරිත්තං මුනිසන්තිකං
සුත්වා තස්මිං ඛණේයේව - අහෝසි නිරුපද්දවෝ
බොජ්ඣංග බලසංයුත්තං-පරිත්තං තං භණාමහේ

## මහා මොග්ගල්ලානථෙර බොජ්ඣංග පරිත්තං

මොග්ගල්ලානෝපි ථෙරෝයං-පරිත්තං මුනිසන්තිකං
සුත්වා තස්මිං ඛණේයේව - අහෝසි නිරුපද්දවෝ
බොජ්ඣංග බල සංයුත්තං-පරිත්තං තං භණාමහේ

## මහාචුන්දථෙර බොජ්ඣංග පරිත්තං

භගවා ලෝකනාථෝයං - චුන්දථෙරස්ස සන්තිකා,
සුත්වා තස්මිං ඛණේයේව - අහෝසි නිරුපද්දවෝ
බොජ්ඣංග බල සංයුත්තං - පරිත්තං තං භණාමහේ

## ගිරිමානන්ද සූත්‍රය

ථේරෝයං ගිරිමානන්දෝ - ආනන්දථෙර සන්තිකේ
සුත්වා තස්මිං ඛණේයේව - අහෝසි නිරුපද්දවෝ
දසසඤ්ඤුප සංයුත්තං - පරිත්තං තං භණාමහේ

## ඉසිගිලි සූත්‍රය

පච්චෙක බුද්ධනාමානි - දේසෙන්තෝයං අදේසයි
අනන්ත බලසංයුත්තං - පරිත්තං තං භණාමහේ



# බණ පිරිත් කතිකාවත

# බණ පිරිත් කතිකාවත

ශ්‍රී සුගත තථාගත අප භාග්‍යවත් සම්‍යක් සම්බුද්ධ සර්වඥරාජෝත්තමයාණන් වහන්සේ විසින් භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා සංඛ්‍යාත සිවුවණක් පර්ෂදුන්ගේ රක්ෂාවරණ ගෝපන වශයෙන් ඓහලෞකිකාභිවෘද්ධිය ද තන්මූලක වූ ශීල-ධූත ව්‍රතාදීන් ගේ වශයෙන් පාර ලෞකිකාභිවෘද්ධිය දැයි යන උභය ලෝක විජය ප්‍රතිපදාව සඳහා දක්වා වදාරන ලද මහා කරුණා ඥාන ප්‍රවෘත්ත වූ පරිත්‍රාණ ධර්ම දේශනාව සිංහල දේශ භාෂා ව්‍යවහාරයෙහි "බණ පිරිත" යන නාමයෙන් දක්නා ලැබේ.

ඒ මේ බණ පිරිත් දේශනාව වනාහි ධර්ම විනය වශයෙන් ද්විවිධි වූ ශාස්තෘ ශාසනයෙහි ධර්ම නම් ලද සූත්‍රාන්ත පිටකයෙහි සංගෘහීත වූවත් ඒ සම්බන්ධ වූ වත්පිළිවෙත් විධිය විනය පිටකාන්තර්ගත වේ.

එහෙයින් බණ පිරිත් සම්බන්ධ සියලූ කර්තව්‍යම ධර්මානුගතව ද, විනයගතව ද, සිද්ධ කටයුත්තේ ය.

හෙද සම්‍යක් සම්බුද්ධ මතානුයායි, අනුබුද්ධ ආයුෂ්මත් මහාකාශ්‍යප ස්ථවිර විනයධර **උපාලි ස්ථවිර** අට්ඨකථාචාර්‍යවරයන් වහන්සේලා විසින් සංගායනා කර වදාරන ලද - "අන්තො ගාමේ'පි ගිලානස්සත්ථාය විහාරං පේසෙන්ති පරිත්තං භණන්තු'ති භණිතබ්බං, අන්තෝගාමේ

රාජගේහාදිසු රෝගේවා උපද්දවේ වා උප්පන්නේ පක්කෝසාපෙත්වා භණාපෙන්ති, ආටානාටිය සුත්තාදීනි භණිතබ්බානි" යනාදි විනයනය ලෙස සම්බුද්ධශාසන ශ්‍රී භාරධාරීවූ මහාවිහාර වංසාගත පුරාතන මහාස්ථවිර උතුමන් විසින් සස්නෙහි නො පහන් පැණවතුන් ගේ ප්‍රසාදය ඇති වෙන ලෙස ද, පහන් සිත් ඇති පැණවතුන් ගේ ප්‍රසාද භූයෝභාවය වන ලෙසට තදනුකූල උපචාර විධීන් සමලංකෘත ව්‍යවස්ථිත විධිවිධානයෙන් යුක්තකොට පුලස්තිපුර රාජධානිකාලයෙහි පටන් "**බණ පිරිත් පින්කමය**" යන නාමයෙන් විශාල පුණ්‍යෝත්සවයක් වශයෙන් පවත්වන සේ ලක්දිව වැසි සරාජක බෞද්ධ මහා පිරිසට පුරුදු පුහුණු කරන ලද්දේය.

මෙහි ප්‍රාරම්භ උත්සවය රජ මන්දිරාසන්නයෙහි සියලු කල්හි ම ප්‍රතිෂ්ඨාපිත වූ ශ්‍රී දංෂ්ට්‍රා දළදා මන්දිරයෙහි දළදා සාමීන් ප්‍රමුඛ කොට තුනුරුවන් පිදීමේ විධි විධාන සහිතව පැවැත ආ බැව් මේ සම්බන්ධ පුරාතන ලිපි වශයෙන් නැණවතුන්ට සුප්‍රකාශ වේ. ශ්‍රද්ධාබුද්ධි - තේජෝබල පරක්‍රමාන්විත බෞද්ධ රාජකීය අනුග්‍රහයෙන් තොරව සාමාන්‍ය බෞද්ධ මහජනයා ගේ සාමර්ථ්‍යයෙන්ම ලක් සසුන් පවත්නා වර්තමාන කාලයෙහි යථෝක්ත පුණ්‍යෝත්සවය අනුක්‍රමයේ තේජශ්ශක්ති විරහිතව සුළු තරම් සමූහයක් විසිනුදු නොයෙක් ලෙස පවත්වන්නට වන් හෙයින් මෙකල එකී ආශ්චර්ය්‍ය අද්භූත බැරෑරුම් ස්වභාවය ඌන වන්ට පටන් ගෙන තිබේ.

මහා සංඝයාවහන්සේට ද දායක කාරක සමූහයන්ට ද ඒ කරණකොට ගෙන නොයෙක් ආපදා බොහෝ විට පැමිණෙන බවද, ශ්‍රද්ධා බුද්ධි විරහිත ජනයන් නොයෙක් විට ඒ මගින් පව් සිදු කරගන්නා බවද, නිතර අසන්ට, දකින්ට ලැබීම ඛේදයක්ව පවත්නේ ය.

චාරිත්‍ර වාරිත්‍ර සීමා උල්ලංඝනය කිරීමෙන් සුචරිත ක්‍රියාවල යෙදෙන්නන් පවා දුසිරිතට පැමිණිය හැකි බැවින් ඒ වළක්වා ගෘහස්ථ, ප්‍රව්‍රජිත මහාපර්ෂදුන් සම්බන්ධව පැවැත්ත යුතු වූ මෙම ගරුතර පුණ්‍යෝත්සවය ද, ලෝකශාසන චාරිත්‍ර මාර්ගානුකූලව ව්‍යවස්ථා සහිතව විධි නො වරදවා පවත්වන රඟට කතිකා කළ මැනවැයි බෞද්ධ ප්‍රභූ මතුන් සමූහයක් විසින් ආරාධිත වූ මහා සංඝයා වහන්සේ විසින් ශික්ෂාශාසන ගෞරවයෙන් බණ පිරිත් පින්කම් සම්බන්ධ මේ කතිකාවත සම්මත කරනු ලැබේ.

1. "මෙත්තචිත්තං පුරෙචාරිකං කත්වා වත්තබ්බං පඨමං සික්ඛාපදානි ගාහාපෙත්වා සීලෙ පතිට්ඨිතස්ස පරිත්තං කාතබ්බං යනු විනය නියමය බැවින් පිරිත් හදාරන මහා සංඝයාවහන්සේ විසින් ශ්‍රවණය කරන පිරිස කෙරෙහි මෛත්‍රීය චිත්තය පෙරදැරි කොට ගෙන ලාභ කීර්ති, ප්‍රශංසා, පරවශ නොව නිස්සරණාධ්‍යාශයෙන් යෙදී පිරිත් වදාළ යුතු."

2. වෙනුව - සප්තාහාදි කාල වශයෙන් නියමිත කාලයන් තුළ නො කඩවා පිරිත් වදාරණ පිණිස සම්මත වූ යුග පිරිතෙහි යෙදෙන භික්ෂූන් විසින් ද තම තමන්ට පැමිණි කාලප්‍රමාණය මෛත්‍රී පූරස්සර සිතින් අත්‍යවිහිත නොව නිරතුරු පිරිත් දේශනාව පවත්නාසේ ව්‍යඤ්ජන බුද්ධිය නො පිරිහෙළා ගීතස්වර හෝ ආර්තස්වර හෝ මන්දස්වර හෝ නොපවත්නා ශ්‍රවණීයමාත්‍රඥතායෙන් පැවැත්විය යුතු යුග පිරිත් දේශනාවේදී දෙනම ම එකවිට විශ්‍රාමයට නො පැමිණෙන සේ උත්සාහ කටයුතු.

3. වෙනුව- ධර්ම මණ්ඩපයට තුන්වේලේ මහපිරිතට වඩනා මහ සඟන විසින් පූජ්‍යාසනප්‍රාප්ත වූ ධාතු චෛත්‍යය සිරිත් ප්‍රකාර තුන්වේලේ නමස්කාර කටයුතු.

4. වෙනුව- පිරිසිදු මනහර පරිෂ්කාරධරව සුසංවෘත ඉන්ද්‍රියයෙන් හා සුපාරුත වේශයෙන් ද ශ්‍රමණ සාරුප්‍ය විධියෙන් මණ්ඩපයට ගමනාගමනය කටයුතුයි.

5. වෙනුව- ගෘහස්ථ මහ පිරිස් මැද මහ පිරිතට වඩනා භික්ෂූන් එකවිට පෙළ නොකැඩී මණ්ඩපයට වැඩීම ද, එසේම නිකුත් වීම ද විනා කඩකඩ ව ගමනාගමන නොකට යුතු.

6. වෙනුව- මහජනතාව රැස්වන සූත්‍ර දේශනා, ආටානාටිය දේශනා දින දෙකේහි මණ්ඩපයෙහි නිතර වැඩ හිඳිනා

භික්ෂූන් ද තම තමන්ට පැමිණෙන ක්‍රියාචාර අපේක්ෂා කරමින් තුෂ්ණිම්භූත ව සුසංවෘත ව අනාවිහිත නොව වැඩ හිඳිනු මිස වෙනයම් කායික, වාචසික ක්‍රියාවන්හි නො යෙදිය යුතු.

7. වෙනුව- දායක පිරිස වෙනුවෙන් දේවදූතයකු ලවා පවත්වන දොරකඩ අස්න ද, මහසඟන වෙනුවෙන් භික්ෂු කෙනෙකු ලවා පවත්වන විහාර අස්න හා අනුශාසනාව ද පවත්නා වේලාවදී ඒ එක එක පුද්ගල කෙනෙකුගේ රන්ධ්‍රගවේසී නොව හැම දෙනම බලවත් කරුණා මෛත්‍රී සිතින් හා ශුභප්‍රාර්ථනාවෙන් යෙදී සාවධානව හින්ද යුතු.

8. වෙනුව- මහ පිරිත් වදාරණ සඟන අතුරින් පුරන ස්ථවිරයන් උපදවන ශබ්දයට අනුරූපව ශ්‍රවණය පමණින් සෙසු භික්ෂූන් විසින් උච්චාරණය කටයුතු වනු මිස වෙන වෙනම තම තමන් කැමති කැමති නානාස්වර ඉපදවීම හා නානාක්ෂරයන්හි උච්චාරණය ගෙන යාම ද නො කටයුතු.

9. වෙනුව - ආටානාටිය සූත්‍ර දේශනාව වදාරන විට ද දෙපස යුග දෙකෝහි භික්ෂූන් සම ප්‍රමාණ මධුර මනෝහර ශබ්දයෙන් ම උච්චාරණය කරනු මිස මහ හඬින් උද්ඝෝෂණය නො කොට යුතු.

10. වෙනුව - පිරිත් මණ්ඩපයට පැමිණි මහා සංඝයා වහන්සේ ද විනය ප්‍රතිපත්තියක් සිද්ධ කරන්නට පැමිණියන් හෙයින් එහි ශික්ෂා සමාදාපන අවවාදානුශාසනාදී ප්‍රස්තාවෝචිත සියලු කටයුතු ථේරාධීනද ව්‍යක්ත ප්‍රතිඵලාධීන වේයයි සලකා මහාසථවිරානුමතයෙන් ව්‍යක්ත ප්‍රතිබල භික්ෂූන් ලවා ම කරවිය යුතුයි.

## ආරාධක වත

බණ පිරිත් පින්කම් කරවනු කැමැති දායක පක්ෂය කුලුපග වූ හෝ සමීප විහාරයෙක් හි ආවාසික වූ හෝ පැවිදි කෙනෙකුන් ආධාර කොට ගෙන සංඝස්ථවිරයන් වසන වෙහෙරකට පැමිණ ආරාධනා කටයුතුයි. යටත් පිරිසෙයින් පස්විසිනමකින් අඩු නොවන මහා සංඝයාවහන්සේ ලබාගත යුතුයි. සංඝයා ගේ ගමනාගමන ප්‍රත්‍යය පහසු ආදිය ආරාධනා කළ දායක පක්ෂය විසින් සැලැස්විය යුතුයි. ලැබෙන පමණ මහසඟන හෝ එයින් කොටසක් හෝ සංඝයා අසල් තැනක රැස්කරවා සැප පහසු දී සිරිත් පරිදි පෙරහරකින් පූජ්‍යවස්තු ප්‍රමුඛව වැඩමවා ගත යුතුයි.

උපස්ථාන ශාලාවට වැඩම වූ මහසඟනට ආගන්තුක සත්කාර පවත්වා සංඝසභාවේ තත්කාලීන කටයුතු කථාබස් නිමිකල ආවාස පිළිගැන්විය යුතුයි. මහාස්ථවිර උපස්ථවිර දෙනමකට ගරු විවේක සෙනසනක් ද එසේ ම ව්‍යක්ත මුක්ත

ස්ථවිර නමක් හෝ දෙනමකට ඊට සුදුසු විවේක සෙනස්නක් ද ඉතිරි භික්ෂූන් යුගය යුගය බැගින් පළමුවෙනි යුගය පටන් පිළිවෙළට වැඩ වසන සෙනසුන් ද, තේවාවේ භික්ෂු නමක් හෝ දෙනමට කට දොර යතුරු සහිත සුරක්ෂිත සෙනස්නක්ද පිළිගැන්විය යුතුයි. ඒ ඒ සෙනසුන්හි දායක පක්ෂයේ ශක්තිය පමණින් ඇඳ ඇතිරි තිර වියන් ආදි සෙනසුන් උපකරණ පිරිසිදු ලෙස සම්පූර්ණ කටයුතුයි.

උපස්ථාන ශාලාව සකස්ව සුපිරිසිදු වියන් ඇතිරි ආදියෙන් ද නිරතුරු පැන වූ අසුන්වලින් ද සමන්විත විය යුතුයි. එහි පැන වූ කිසිවක් අතරතුර ගිහින් ගේ ප්‍රයෝජනයට නො ගන්නා සේ සුරක්ෂිත කටයුතුයි. පාන භෝජනා දි ද්‍රව්‍ය කරණකොට ගෙන දුගඳ නොවන සේ පවත්වන ආරක්ෂකයෙක් එහි නිතර ම වැසවිය යුතුයි. ආගන්තුකව එන යන භික්ෂූන්ට පසය ද ගිලන් භික්ෂූන්ට පසය ද සියලුවිට ම එහි සැලසී තිබිය යුතුයි.

යථාකාලයෙහි මහසඟන වැඩමවා උපස්ථාන කටයුතුයි. අවාසාංගයක් වූ වැසිකිලි කෙසිකිලි උපස්ථාන ශාලාවෙන් දුරුව ආවාස පශ්වාද්භාගයෙක්හි නුදුරු නොළංව කරවිය යුතුයි. ආවාසයන්හි රක්ෂණ ගෝපණය සඳහා දිවා රාත්‍රී දෙක්හි ම නිතිපතා ආරක්ෂකයෙක් තැබිය යුතුයි. තේවාවේ භික්ෂූන් විසින් දැනුම් දෙන පරිද්දෙන් උපස්ථානයට සුදුසු දැහැටි දඬු ආදිය ද උණු පැන් සිහිල් පැන් ආදිය ද සපයන මෙහෙකරු ජනයා සැලැස්විය යුතුයි.

මහ සඟන බණ පිරිත් ආරම්භයට වැඩම වූ තැන් පටන් සත් දින තුළම ධර්ම මණ්ඩපයේ වත් පිළිවෙත් ද, තූර්යනාද, ජන සමූහයා සාවධානව යෙදවීම ද, යුග පණිවිඩ ගෙන ඒමද, සොරභය ගිනිභය ආදියෙන් ආරක්ෂා කිරීම ද, මහ පිරිත් ආරම්භයේදී පෙනී සිටීම ද, දේවදූතයකු පේව සිටින සේ සලස්වා ආරක්ෂා කිරීම ද පැමිණි පිරිසගෙන් ලබන ආධාර සමාදම්-පිරිස නො පෙලා ඝෝෂා නො පවත්වා සන්සුන් ලෙස ලබා ගැනීම ද සිරිත් සමාදම් මිස විශේෂ සමාදම් නො පැවැත්වීම ද, තුනුරුවන් උදෙසා සැදැහැවතුන් දෙන පුදක් ඇතහොත් එය සුරක්ෂිත කොට මහ සඟනට හෝ උපකාරී සංඝ සභාවට හෝ සැලකර ලැබෙන අවසරයකින් ක්‍රියාකිරීම ද, පින්කමේ කටයුතු සඳහා ලැබෙන මිල මුදල් දෙදෙනකු වෙත ලේඛන දෙකක් සඳහන් කොට භාණ්ඩාගාරික ප්‍රධාන තැනක් භාරයේ තැබීම ද, අතරතුර ලැබෙන සාංඝික පිරිකරත් ඇතහොත් තේවාවේ භික්ෂූන් ගෙන් අනුදැක්මෙන් ඒ ඒ විට ම බෙදා දීම හෝ අවසානයෙහි බෙදීම ද, පින්කම සම්බන්ධ නියම පරික්ෂාකාර පූජාව උපකාරී සභාවේ අවසර ලෙස දායක පක්ෂයේ ශක්ති පමණින් පැවැත්වීම ද, ඒ පිණිස වැඩි ලාභයක් ලැබී ඇතහොත් මහ සඟන වෙතින් නොවිචාරා අනිකකට පිරිනොනැමීම ද, පින්කම්පල අසල සූරාධූර්තාදී අශික්ෂිත ජනයන් රැස්නොවන සේ සුරක්ෂිත කරගන්ට ශක්ති පමණින් උත්සාහ ගැනීම ද, අවට ගම්වලින් පෙරහර ආදියක් පැමිණි විට නෘත්‍යගීත ගිතිකෙළි ආදි පැවතුම් ඔවුන්ට රිසි රිසි

තැන කැමැති කැමැති වේලාවක් පවත්වන්නට අවකාශ නොදී "දායක සභාවේ හෝ සංඝ සභාවේ" හෝ අවසරයක් ලෙස ඉඩදීම ද, දායක පිරිස නිතරම අඛණ්ඩ පඤ්ච ශීලයෙන් හා ශ්‍රද්ධාබුද්ධියෙන් යෙදී හගය ලෝකාර්ථ සිද්ධිය මුදුන්පත් කොට ගෙන කරුණා මෛත්‍රීයෙන් ක්‍රියා කිරීම ද යුතුයි.

## ආවාසික වත

බණ පිරිත් පින්කම් සම්බන්ධව දායකයන්ට උපදේශ දෙන කුලූපග භික්ෂු කෙනකුන්ට දායක පක්ෂයේ අදහස දැන්වූ විට තමන් ගේ ආචාර්‍ය්‍ය උපාධ්‍යායන්ට නොදන්වා අවසර නොමැතිව ඊට සම්බන්ධ නොවිය යුතුයි. අවසර ලද්දා වූ හෝ සංඝස්ථවිර කෙනෙක් වූ කුලූපග භික්ෂු කෙනෙකුන්ට දායක පක්ෂයේ ආරාධනාව ලැබුණු විට සංඝයා ලැබිය යුතු ආකාරය සලකා දායකවරුන්ලවා ම මහසඟන වෙත සත්කාර පුරස්සර ආරාධනාව පැමිණ විය යුතුයි.

ධම්මමණ්ඩප උපස්ථානශාලා ආවාසාදි කටයුතු දායක පක්ෂයට කියා දිය යුතුයි.

මණ්ඩප සැරසිලි ආදිය ගැන උපදේශ පමණකින් මුත් කම්කරු විලාසයෙන් ක්‍රියා නො කට යුතුයි" වැඩමවාගත් භික්ෂූන් ගේ සැපපහසු සෙවීම ද, අඩුලුහුඩු පිරිමැස්වීම ද, සංඝ ගෞරවයෙන් කරවීම ද, ඒ කිසි ක්‍රියාවක් නිසා අතිරේක

ලාභයක් නො ඉවසීම ද, ආරාධක වූ කුලූපග භික්ෂූන් ගේ යුතුකම වේ.

## ආරාධනා ලත් මහා සංඝයා ගේ වත

යම් සංඛ්‍යාවක් පැමිණෙන සේ ආරාධනා ලද්දාහු නම් ඒ ගණන් නො පිරිහෙළා ආරම්භ දින සවස් භාගයෙහි පින්කම්පලට පැමිණීමද, පත්, පොත්, සිවුරු පිරිකර ගෙන්වා ගෙන ඒ රැක බලාගන්නා පිණිස සුවිනීත අතවැසියන් ඇතිව පැමිණීම ද, උපස්ථාන ශාලාවට රැස්ව ග්‍රීෂ්ම නිර්වාපනය කළ පසු පින්කමේ යෙදිය යුතු භික්ෂූන් තෝරා ගෙන තාවකාලික වශයෙන් තනතුරු සම්මත කිරීමේදී මහාස්ථවිර, උපස්ථවිර, අනුශාසක, ලේඛක, අනුමෝදක, ධර්මකථික, උපස්ථායක, තනතුරුවලට සුදුසු ස්ථවිරාදීන් සම්මත කොට මෙකී තනතුරු ලත් භික්ෂූන් කාරක සභාවක් පත්කොට නියම කිරීම ද, යුග පිරිත් දෙසන පිළිවෙළ ද, නියමකොට කල්නොයවා සෙනසුන් පිළිගැනීම ද, පිරිත් පේ කිරීමේ පටන් සියලු මහපිරිත්හි ම අනලසව ගිලන් කෙනෙකුන් හැර සියලු මහසඟනට පැමිණීම ද, දේවදූතයෙකු නියම වූ පසු ඔහු සුදුසු භික්ෂු කෙනෙකුන් භාරයේ ප්‍රගුණත්වයට පැමිණවීම ද, උපස්ථාන ශාලාවෙහි ඝන්ටාරාවයෙන් කාලොද්ඝෝෂණය කළවිට නිකරුණේ පමානොව සඟ පිරිස රැස්ව විශේෂ ආගමානුකූල වත් පිරිත් නියායෙන් හා ප්‍රත්‍යවෙක්ෂණයෙන් ආහාර කෘත්‍යය කරනු මිස කායික වාචසික චාපල්‍ය නොපැවැත්වීමට ද, අහරකිස නිමවූ පසු ධර්මවිනයානුගත

කථාවක් පිණිස මුත් අන් කිසි කථා සඳහා උපස්ථාන ශාලායෙහි වගී වගී ව නොරැඳීම ද තම තමන්ට පැමිණි ක්‍රියාචාර පණිවිඩ වූ කල නොපහසු ගිලන්කම් නොදක්වා යුහුවම පිළිගැනීම් ද, කිසියම් ගිලන්කමක් ඇති වුවහොත් පණිවුඩ එවන්ට පළමුව උපස්ථායක භික්ෂු නමට දන්වා ලීම්ද, සියලු භික්ෂූහූම සභාග සාධු සාමීචි පැවැත්මෙන් මිස කිසිවෙකිනුත් අන්‍යෝන්‍ය ප්‍රතිවිරුද්ධතාවක් නො උපදවා ගැනීම ද, ප්‍රමාද දෝෂයක් හැඟුණුවිට මහාස්ථවිරාදි කාරක සභාවට හෝ එයින් එක් නමකට හෝ අප්‍රකාශ ලෙස සැලකර සාමග්‍රිය සලස්වා ගැන්ම ද ගිහි පැවිදි සභාග ප්‍රශ්නයක් උපන්විට කාරක සභාවෙන් හෝ එසේත් නොහැකි විට මහා සංඝ සභාවෙන් හෝ එය නිර්වේෂ්ටනය කරගැනීමද, චිරකාල ප්‍රවෘත්ත නිකායාන්තර මතාන්තර වාද භේද ගැන ව්‍යාපෘත නොවීම ද, පින්කමට සම්බන්ධ වූ භික්ෂූන් එම ස්ථානෝපචාරයෙන් බැහැර අන්කිසි කටයුතු සඳහා ගමනාගමනය නොකිරීම ද, එක් වරුවක් නමුත් බැහැර යා යුතු කෘත්‍යයක් වී නම් තමන් වෙනුවට කෙනෙකු පත්කර සභාවේ අවසර ලද හොත් යාම ද, බලවත් අන්තරායක් වී නම් සභාවෙන් කරුණා අවසරයක් ලබාගැන්ම ද, සර්වප්‍රකාරයෙන් සංඝකර්තව්‍යයන්ගේ ශෝභාව සමෘද්ධවන ලෙස සුවිනීත ප්‍රියශීලි ගුණයෙන් ක්‍රියා කිරීම ද, මාත්‍රඥතායෙන් යුක්තව ක්ලිෂ්ට භෝජනාදියෙන් තොරව සුපිරිසිදුව පැවැත්ම ද, පිරිත් මණ්ඩපය තුළ දී සිසිල් පැන් උණු පැන් හැර අන් කිසි විශේෂ පාන වර්ග නො පිළිගැන්ම

හා මණ්ඩපය තුළ කෙල බඳුන් නොතැබ්බවීමද 'යි යනාදී වත් මහ සඟන විසින් සැලකිය යුතුයි.

## උපස්ථායක වත

සතියක් පරිත්‍රාණ දේශනාව පවත්වා අවසාන වූ කල්හි රොගෝපද්‍රවාදියක් නොමැතිව නැවත සතියක් නැවත සතියක් පිරිත් දේශනා කෙරෙත්වායි අතරක් නොමැතිව බණ පිරිත් පවත්වන්නට ආරාධනා කරන්නවුන්ගේ යාඥා පරිද්දෙන් ම ඒ ආයාචනා නො පිළිගෙන විශේෂ ශාසනාධාර උදාරතර නිමිත්තක් ඇති විට අතර අතික් පින් කමක් කළ පසු දෙවන බණ පිරිතක් පවත්වන සේ ඒ ආරාධකයන් සුදුසු ලෙස යෙදවීම ද, සංඝ උපස්ථානයෙහි විධි විධාන මේ මේ යැයි සලකා වතාවත්කරුවන් ලවා අනලස්ව කරවීම ද, සුදුසු වේලා බලා මහ පිරිත් ආරම්භ කරවීම ද, සෙනසුන්හි සැප පහසු පරීක්ෂා කිරීම ද, රාත්‍රී කාලයෙහි යුග පිරිත් සඳහා අවදිකරවා භික්ෂූන් වැඩමවා ගන්නා පණිවුඩ කාරයන්ට විශේෂ වශයෙන් දැනුමැතිකම් දීමද කාරක සභාවේ කැමැත්ත ලෙස තුන් වේලේ මහපිරිතට කල් නියම කොට ඒ එසේ පවත්වා ලීම ද, ගිහි පැවිදි සභා දෙකින් තමන් වෙත පවත්වන අයදුම් හා නියෝග සාදරයෙන් පිළිගැන්වීම ද, තමන්ට අපහසුවක් පෙනේ නම් මහසඟන වෙත සැලකර උපස්ථම්භක හෝ ඉවත්ව ගිය භික්ෂූන් නිසා හෝ පිළිවෙළ වියවුල් නොවන ලෙස නුවණින් ක්‍රියා කිරීම ද, තමන් භාරයට පත්වන දළකඩමය විජිනිපත් ආදි ගුරු පරික්ෂාකාරයන් සුරැකි කොට දීම ද කාරක සභාව විසින් නිශ්චය කටයුතු තරම් කරුණක් පැමිණි විට ස්වකීය මතයෙන්ම නිශ්චය නො

කොට සභාවේ මතය ලබා ගැනීම ද, පූජ්‍යාසනයේ ධාතු චෛත්‍යය සම්බන්ධව පූජා විධි සම්පූර්ණ කරමින් තමන් සැප විහරණය යථාවකාශයෙන් සැලකීම ද යුතුයි.

## කාරක සංඝ සභාවේ වත

මුළු මහා සංඝ සභාව කිසිවිටකවත් රැස්වන්ට අවකාශ නො ලැබෙන බැවින් මුළු සභාවේ බලය ලත් කාරක සභාව විසින් භික්ෂූන්ගේ ද දායකවරුන්ගේ ද සාමග්‍රිය සුරක්ෂිත කටයුතුයි. භික්ෂු කෙනෙකුන් සම්බන්ධව හෝ අතවැසි කැපකරුවන් සම්බන්ධව හෝ දායක කාරවරුන්/ සම්බන්ධව හෝ යම්කිසි ව්‍යාකූලයක් දුටු ඇසූ වහාම ඒ සන්සිඳුවා ලීම ද, ගිලන්තැන් ආදීන් ගෙන් පැමිණෙන පුරප්පාඩු පිරිමසාලීම් ද අමුතුවෙන් සම්බන්ධ කටයුත්තක් පැමිණිය හොත් පත්කර ගැනීම ද, පත්වූ කෙනකුන් ඉවත් කළයුතු වීනම් එසේ කිරීම ද, පින්කමේ ගිහි පැවිදි පිරිස් සම්බන්ධව හෝ සුදුසු අණපනත් ආදිය සැලැස්වීම ද, මුළු පින්කමේ සමෘද්ධිය හා ගෞරවයත් රැකබලා ගැන්ම ද, කාරක සභාවේ වැඩි පක්ෂයේ කල්පනාවෙන් ආගම සිරිත් ප්‍රකාර කටයුතුයි.

මෙසේ මේ කතිකාවත ස්ථිරව පවත්වන ලෙසට නියම කරන්නට යෙදුණේ ශ්‍රී සෛංඛණ්ඩ ශෛලාභිධාන ශ්‍රී වර්ධනපුර ප්‍රවාරභ්‍යන්තරයෙහි වූ පුෂ්පාරාම භාරයෙහි විංශතිවර්ගික කාරක මහා සංඝ සභාවේ කැමැත්ත ඇතිව උපෝසථ පුෂ්පාරාම විහාර පදවිය ලැබී කරවන තිබ්බටුවාවේ ශ්‍රී සිද්ධාර්ථ සුමංගලාභිධාන මහානායක ස්ථවිරයන් වහන්සේ

සහ එසේ ම අනුනායක පදවිය ලැබී කරවන වටරක රත්නජෝති සෝහිතාභිධාන අනුනායක ස්ථවිරයන් වහන්සේ ද අනුක්කනේ සංඝරක්ඛිත සරණංකරාභිධාන අනුනායක ස්ථවිරයන් වහන්සේ ද යන අප විසින්ය. (අත්සන්)

## බණපිරිත් කතිකාවතෙහි සඳහන් බණ පිරිත් විධි

### නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස

1. ඵග්ගුනමාසෙ කාලපක්ඛෙ එකාදසී දිවසෙ සබ්බේ භික්ඛු නායකාදයො රාජගෙහෙ සන්නිපතන්ති, සබ්බෙ අමච්චාදයො මණ්ඩපංවා මණ්ඩපධාරංවා ඨපෙත්වා උදකකුම්භං වා මංගල සුත්තං වා රක්ඛෙද පරිභොගං වා මණ්ඩපාධාරේ ඨපෙන්ති, සබ්බේ භික්ඛු අඤ්ජලිං පණාමෙත්වා ධම්මං භණන්ති.

2. අවිජ්ජා පච්චයා-අවිජ්ජායත්වෙව-අනෙකජාති-ඉතිපිසෝ භගවා-ස්වාක්ඛාතෝ - සුපටිපන්නෝ බාහුං සහස්ස-භවතුසබ්බ මංගලං-නක්ඛත්ත යක්ඛ භූතානං, යාවතතියවාරං.

3. නිට්ඨිතං-තුරියං පවත්තේති,

4. පුනභික්ඛු සූත්තං ජපෙන්තො තාලවණ්ටං ගහෙත්වා පරිත්තං භණන්ති, කරණීය මෙත්ත සුත්තං-යංකිඤ්චි චිත්තං, යාව ඛීණං පුරාණං-යංදුන්නි මිත්තං-දුක්ඛප්පත්තාව-සබ්බේ බුද්ධා.

5. නිට්ඨිතං-තුරියං පවත්තේති.

6. එකෝ නායකෝ පරිත්ත සුත්තං ගහෙත්වා මණ්ඩපං අනුපරියායති, එකෝ නායකෝ උදක භාජනං ගහෙත්වා අන්තෝ රාජගේහේ අබ්භුක්කිරති.

7. පුනදිවසෙ පච්චූසකාලෙ භික්ඛු රාජගේහේ සන්නිපතන්ති, එකෝ අමච්චෝ පූජාසක්කාරං කත්වා විපත්ති පටිබාහාය සබ්බ සම්පත්ති සිද්ධියා-සබ්බ භය-දුක්ඛ-රොග විනාසාය පරිත්තං බෲථ මංගලන්ති-යාව තතිය වාරං ආරාධනං කරෝති.

8. ද්වෙ භික්ඛු පරිත්තං භණන්තා පඨමක භාණවාරෙ සරණ ගමනං - දසසීල - සාමණේරපඤ්හං ද්වත්තිංසා කාරං - පච්චවෙක්ඛණා - දස ධම්ම සුත්තං නිට්ඨා පෙන්ති.

9. සබ්බෙ භික්ඛු පරිත්තං භණන්තා මංගල සුත්තං-රතන සුත්තං - කරණීය මෙත්ත සුත්තං - නිට්ඨාපෙත්වා- මහාකාරුණිකො - ජයන්තො - සක්කත්වා - යංකිඤ්චි රතනං - නත්ථිමේ - සබ්බීතියො - භවතු සබ්බ මංගලං - නක්ඛත්ත යක්ඛ භූතානං යාව තතිය වාරං නිට්ඨාපෙත්වා ආරාමං ගච්ඡන්ති. තුරියං පවත්තේති,



10. යමකා භික්ඛු පුන දසධම්ම සුත්තතෝ පට්ඨාය පඨමක භාණවාරං නිට්ඨාපෙන්ති, තුරියං පවත්තේති, පුන යමකා භික්ඛු දුතියක භාණවාරං නිට්ඨාපෙන්ති, තුරියං පවත්තේති, එවං දුතිය දිවසේපි.

11. සුත්තාරම්භ දිවසේ පඨම සජ්ජිතානි අපනෙත්වා පුනසජ්ජිතානි කත්වා සායණ්සමයෙ සබ්බේ භික්ඛු මණ්ඩපං ගහෙත්වා පුබ්බේ වුත්තනයේනෙව මංගල සුත්තං - රතනං සුත්තං - කරණීය මෙත්ත සුත්තං - මහා කාරුණිකො - ජයන්තෝ - සක්කත්වා - යංකිඤ්චි රතනං - නත්ථිමෙ - සබ්බීතියෝ - භවතු සබ්බ මංගලං නක්ඛත්ත - ද්වෙනායකා ආසනං ආරුහන්ති - නිට්ඨිතං තුරියං පවත්තේති,

12. නමෝ තස්ස - සරණා ගමනං - ධම්මචක්කප්පවත්තනං නිට්ඨාපෙත්වා ආරාමං ගච්ඡන්ති, පුන අඩ්ඪරත්තේ ද්වෙ භික්ඛු ජසුත්තං නිට්ඨාපෙත්වා පරිත්තං භණන්ති,

13. සත්තමේ දිවසේ පඨමං පුබ්බණ්හේ යෙව සබ්බේ භික්ඛු සන්නිපතිත්වා තීනි සුත්තානි භණන්ති. හෙට්ඨා ඨිතේනේව දිවසනක්ඛත්තං කථෙත්වා දේවාලය පත්තං අක්ඛරානි අවිනාසෙත්වා ලිඛන්තෙන, තස්ස පුරෙතරමෙව ආසනස්ස පිට්ඨිභාගෙ ඨිතකෙන, විහාර සාසනං වාචෙත්වා නිට්ඨිතකාලෙ දේවාලය පත්තං ලිඛිතබ්බං

14. තං දිවසං සායණ්හ කාලේ සබ්බේ භික්ඛූ මංගල සුත්තං නිට්ඨාපෙන්ති, ද්වෙ නායකා ආසනේ නිසීදිත්වා ඉසිගිලි සුත්තෙ අන්තිමා ද්වෙ ගාථායො භණන්ති, පුන දෙවදූතෙ පුන එකෝ භික්ඛූ අනුසාසනං නිට්ඨිතං-තුරියං පවත්තේති,

15. පුන ආසනේ නිසින්නාදයො චත්තාරො භික්ඛූ ද්වෙ පොත්ථකානි ගහෙත්වා ද්වේ භාණවරානි චුද්දස වාරං නිට්ඨාපෙන්ති-ද්වෙ නායකා ආටානාටිය සුත්තං නිට්ඨාපෙන්ති-තුරියං පවත්තේති.

16. පරිත්තං නිට්ඨාපෙන්තේහි පන සබ්බේහි භික්ඛූ පරිත්ත සුත්තං ගහෙත්වා රතන සුත්තං, කරණීය මෙත්ත සුත්තං, යං දුන්නිමිත්තං, දුක්ඛප්පත්තාච, සබ්බේසු චක්කවාලෙසු, ගච්ඡන්තු දේවතාගතා, ආරක්ඛං ගණ්හන්තු, එත්තාවතා ච, සබ්බේ බුද්ධා, පුන මහාකාරුණිකාදයො පුබ්බෙච, සබ්බේ බුද්ධා, භණනකාලෙ පරිත්ත සුත්තෙ බන්ධනං කත්වා ඨපිතානි ද්වෙ වා තීනි වා චත්තාරි වා නාලිකෙර පණ්ණානි මොචෙතබ්බානි.

17. තදනන්තරං තුරියං පවත්තේතබ්බං, ඉතිපිසෝති ආදිනා බුද්ධාදි රත්නත්තයං වන්දිත්වා ඛමාපේතබ්බං, දානං දදන්තාවසානෙ සුත්තා ධාරං භණ්ඩිතබ්බන්ති නිට්ඨිතං.

# බණ පිරිත් විධිය

සරසන ලද පිරිත් මණ්ඩපයෙහි හැම සංඝයා ම බද්ධපර්‍යඞ්කව හිඳ විජිනිපත් පසෙක තබා වැඳගෙන නමස්කාරය නොකියා, අවිජ්ජා - පෙ - සමුදයෝ හෝතු, අවිජ්ජායත්වෙව-පෙ - නිරෝධෝ හෝති - අනේක ජාති සංසාරං - පෙ - මජ්ඣධභාති, ඉතිපිසෝ භගවා, ස්වාක්ඛාතෝ, සුපටිපන්නෝ, බාහුං සහස්ස - පෙ - නරෝසපඤ්ඤෙදා - භවතු සබ්බ මංගලං-නක්ඛත්ත - හේවිසි කරවා-කරණීයමත්ථ කුසලේන - යංකිඤ්චි චිත්තං - ඛීණං පුරාණං - යන්දුන්නිමිත්තං - දුක්ඛප්පත්තා -සබ්බේ බුද්ධා-පෙ-රක්ඛං බන්ධාමි සබ්බසෝ-හැම සංඝයාම නැගිට සබ්බේ බුද්ධා-යන ගය කිය කියා පිරිත් හුව මැදිකොට ගොප්කොළ ගැට ගසා පිරිත් හුව දකුණට අදිනු, පිරිත් හුව ඇද හේවිසි කරවා දණ බිම ඔබා වැඳ නමස්කාරය කියා-ඉතිපිසෝ බුද්ධං ජීවිතං, බුද්ධෝ බමතු තං මමං ස්වාක්ඛාතෝ, ධම්මං ජීවිතං, ධම්මෝ බමතු තං මමං, සුපටිපන්නෝ, සංඝං ජීවිතං, සංඝෝ බමතු තං මමං, බුද්ධ ධම්මා ච, මය්හං පණාම තේජේන චිත්තං පාපෙහි මුඤ්චතං.

මෙසේ බුදුන් වැඳ පිරිත් පේ කොට දෙවෙනිදා උදය පිරිත් පුරන දෙන ම ආසනේ හිඳ හැම සංඝයාට ම සඳුන් කිරිපැන් දී පිරිත් හුව දී "විපත්ති පටිබාහාය" යන ගයින් ආරාධනා කරවා හේවිසි කරවා පුරන දෙනම නමස්කාරය කියා සරණාගමනය "තතියම්පි සංඝං සරණං ගච්ඡාමි" කියා

නැවත නමස්කාරය කියා "පාණාතිපාතා වේරමණී" ආදීන් දසසිල් කියා එකනාමකිං-අත්ථි ඉමස්මිං-පටිසංඛා යෝනිසො-දසධම්ම සූත්‍රයන් කියා 'නැවත ආසනේම හිඳ හැම සංඝයා සමග තුන් සූත්‍රය කියා මහාකාරුණිකෝ, ජයන්තෝ, සක්කත්වා යංකිඤ්චි, නත්ථි මෙ, සබ්බීතියෝ භවතු සබ්බ මංගලං, නක්ඛත්ත යක්ඛ (සුභුතොව-පෙ-)උදය දවල් සවස තුන් සූත්‍රය කියා 'මහාකාරුණිකෝ' යන්නෙන් පටන් ගෙන නක්ඛත්ත යක්ඛ භූතානං යනු දක්වා මහ පිරිත කියනු, පිරිත පටන්ගත් සවෙනිදා සවස මහා පිරිත කියා පිරිත් පූරන දෙනම ආසනේ හිඳ හේවිසි කරවා නමස්කාරය කියා බුද්ධං, ධම්මං, සංඝං සරණං ගච්ඡාමි යන්නෙන් සරණා ගමනය කියා "ධම්ම චක්කය" කියනු.

නැවත අනුශාසනාව කියන දේවාල පත ලියන දෙනම නමස්කාරය කියා සරණාගමනය කියා මහාසමය සූත්‍රය කියා, මෙසේ නමස්කාරය සරණා ගමනය කියා සූත්‍ර හත පිළිවෙලින් කියා හත්වෙනිදා උදය මහ පිරිත කියා ඉක්බිති පිරූ දෙනම ආසනේ හිඳ යුගය නොකියා ඉන්දදී සූත්‍රය කී දෙනම ද නිශ්ශබ්දව ආසනයෙහිම හින්ද දී හැම සංඝයාම, පිළිවෙලින් හිඳ පිරිත් හුව දී අල්ලා සිටියදී ම, දේවාලපත ලියන නම ආසනයට දකුණු පස, වලය ම ළඟ පිරිත් හුව ඉදිරිපිට සිටුවා අනුශාසනාව කියන නම ආසනේ වම්පස සිටුවා දේවාලපත ලියන නම ලිත කී ඉක්බිති අනුශාසනා කියන නම විහාර අස්න කී ඉක්බිති දේවාල පත ලියා ලිවූ නම ඒ පත කියා සමාප්ත කළ පසු පිරිත් හුව අකුළා නැවත

සූත්‍ර පටන් ගෙන කියනු-ලිවූ දේවාල පතෙන් පත් තුනක් ලියා ඒ සතරම සුළි කොට කසා පැනින් නහවා දුම් අල්ලා පිරිසිදු කොට සතර කොන බුලත් පළු කැන් පුවක් මල් ඉති සමග බැඳ දුම් අල්ලා උසක තබා මහදන් වළඳා පෙරසේම මහපිරිත කියා සූත්‍ර කියන්ට හැර මහපෙරහරින් පිටත්ව යනකල හේමකද පත ලිවූ නම දේවදූතයාට දී දේවාලයට ගොස් මල් පහන් පුදවා දුම්මල ගස්වා පසු ජයමංගල කියා තල්පත් බෝමැඩ සිව්කොන එල්වා එනු.

සවස හැම සංඝයා රැස්ව හිඳ පිරිත් හුවදී පිරූ දෙනම ආසනයේ හිඳ නමස්කාරය කියා මංගල සූත්‍රය පටන් ගෙන හැම ම කියා පසු දොරකඩ අස්න අනුශාසනාව කියා පසුව පිරූ දෙනම හමාරක් කියා පැන් දී ඉක්බිති අනුශාසනාව කිවූ දේවාල පත ලිවූ දෙනම හමාරක් කියා අතිරේක සංඝයා හමාර කියා අරුණු වේලාවට පිරූ දෙනම ආටානාටිය සූත්‍රය හමාරකොට හැම දෙනම රතන සූත, කරණීය සූත, මහපිරිත යුගය කියා නක්ඛත්ත යක්ඛ යන ගය දක්වා කියා යන්දුන්නිමිත්තං, දුක්ඛප්පත්තා, දේවතාගතා, සබ්බේ බුද්ධා පෙ-සබ්බසෝ-මෙසේ කිය කියා බැඳ තුබූ පූළුන් කොළ ගැට හුනා පිරිත්හුව අකුළා පෝය කරන ලෙස බුදුන් වැඳ යනු.

**බණ පිරිත් විධිය නිමි.**

# පළාත්බද පිරිත් චාරිත්‍ර විධි

## තිස් පැයේ පිරිත

ගෞරව භක්ති සම්මාන සහිතව මණ්ඩපයට සංඝයා වැඩමවූ පසු දැහැත් වට්ටියක් පිළිගන්වා ආරාධනා කිරීම.

1. මණ්ඩපය වටා ඇති කලස්වල දායකයන් ලවා පහන් දැල්වීම.

2. හඳුන් කිරි පැන් හෝ සුවඳවලින් අත් පිරිසිදු කොට පොරි හා මල් සංඝයාගේ අතිනත යවා ධාතු කරඬුවට මල් පූජා කිරීම හා පොරි ඉසීම.

3. පන්සිල් දීම.

4. දායකයාගේ අදහස විචාරීම.

5. පිරිත් අවවාදය.

6. මගුල් බෙර.

7. දේවතාරාධනාව
(සමන්තා චක්කවාලේසු..... යනාදීන්)

8. නමස්කාරය තෙවරක් කියා පටන් ගෙන සමහර භික්ෂූන් වහන්සේ පටිච්චසමුප්පාදය කියති. ඉතිපිසෝ භගවා-ස්වාක්ඛාතෝ භගවතා ධම්මො-සුපටිපන්නෝ භගවතෝ

සාවක සංඝෝ-බාහුං සහස්ස-භවතු සබ්බ මංගලං-නක්ඛත්ත යක්ඛ භූතානං යන්නෙන් අවසන් කෙරෙති.

9. බෙරය පමණක් එකවරක් ගස්වා පිරිත් නූල් ඇද (රුහුණේ පිරිත්හුය තිස් පැයේ පිරිතටගෙන යැමක් නැත.) තුන් සූත්‍රය කියා මහාකාරුණිකෝ නාථෝ, යනාදීන් දකුණු පළාතේ අවසන් කෙරෙති. (සමහර පළාත්වල භික්ෂූන් වහන්සේ තුන් සූත්‍රය කියා යංදුන්නිමිත්තං, දුක්ඛප්පත්තාව නිද්දුක්ඛා, සබ්බේ බුද්ධා බලප්පත්තා යි අවසන් කෙරෙති).

10. යුග දේශනා පවත්වා සූත්‍ර දෙසා, හමාර කියා, උදේ පිරිත, කරණීයමත්ථ කුසලෙන, යංදුන්නිමිත්තං දුක්ඛප්පත්තාව නිද්දුක්ඛා, සබ්බේ බුද්ධා බලප්පත්තා, ජයාසන ගතාවීරා, තණ්හංකරෝ මහාවීරෝ, මහාකාරුණිකෝ නාථෝ, වන්දාමි චේතියං සබ්බං, ඉමිනා පුඤ්ඤ කම්මෙන, උපජ්ඣායා ගුණුත්තරා, කායෙන වාචා චිත්තෙන, ඕකාස ද්වාරත්තයෙන'යි අවසන් කෙරෙති.

11. අනතුරුව සිටින පිරිසට පන්සිල් දී, පිරිත් අනුමෝදනා කෙරෙති.

12. (පිරිත් පැන් දීමේදී ප්‍රධාන) දායක මහතාට හෝ ලෙඩාට, යංකිඤ්චි චිත්තං, යම්බුද්ධ සෙට්ඨයෝ, යේ පුග්ගලා යනාදි ගාථා තුන කියා සබ්බීතියෝ, භවතු, සබ්බ, නක්ඛත්ත

යක්ඛ භූතානං, යනාදිය කියති. නූල් බැඳීමේදී නවගුණ පාඨාදිය හා සබ්බේ බුද්ධා බලප්පත්තා යනාදිය කියති.

## තුන් තිස් පැයේ හෙවත් තුන්වේලේ පිරිත

1 සිට 7 දක්වා තිස් පැයේ පිරිත මෙනි.

4 අංකයේ දී මෙත් දායකයාගේ අදහස් විචාරා, විපත්ති පටිබාහාය සබ්බ සම්පත්ති සිද්ධියා, සබ්බ දුක්ඛ විනාසාය පරිත්තං බ්‍රෑථ මංගලං-පෙ-සබ්බ භය විනාසාය, පෙ-සබ්බ රෝග විනාසය පරිත්තං බ්‍රෑථ මංගලං, යනුවෙන් දායකයා ලවා කියවිය යුතුයි.

8. නමස්කාරය පුරමින් පටන් ගෙන පටිච්ච සමුප්පාදය කියා ඉතිපිසෝ භගවා, ස්වාක්ඛාතෝ, සුපටිපන්නෝ, බාහුංසහස්ස, භවතු සබ්බ, නක්ඛත්ත යක්ඛ යනාදිය දේශනා කරති.

9. බෙරය වරක් ගස්වා: [1] කරණීය සූත්‍රයෙන් පටන් ගෙන, ඛීණං පුරාණං, යන ගයෙන් අවසන් කොට යන්දූන්ති මිත්තං, දුක්ඛප්පත්තා, එත්තාවතා, සබ්බේ බුද්ධා, යන ගයෙන් තුන්වරක් කීමෙන් පසු සියලූ ම සංඝයා නැගිට[2] පිරිත්හුය මණ්ඩපය උඩ වටා ගැටගැසිය යුතුයි.[1] පිරිත අවසන් කරන්නේ තිස්පැයේ පිරිතට සමානවය. කප

ගහ වෙනුවට ගන්නේ සූරිය ලීයකි. එහි වටාපතක් මෙන් ඉන්ද්‍රකීලය සරසා බඳියි.

## පස්වේලේ (තිස්පෑ පහේ) පිරිත

මෙහි චාරිත්‍ර තුන් තිස් පැයේ පිරිත මෙනි.

## හත්වේලේ (තිස්පෑ හතේ) පිරිත

සිරිත් විරිත් තුන් වේලේ මෙනි.

1. චිරාගත සම්ප්‍රදාය අනුව පැවැත්වෙන ක්‍රමය පිරිත පේකල දිනයේ රාත්‍රි මහපිරිතෙන් පසු පිරිත් මණ්ඩපය වසා දැමීමයි. පසුදින උදේ මහ පිරිතෙන් පසු යුග දේශනාව ආරම්භ කරයි. මෙම චිරාගත ක්‍රමය ඇතැම් තැන්හි අදත් පැවැත්වෙන අතර, බොහෝ තැන්හිදී මුල් දිනයේම රාත්‍රී මහපිරිතෙන් පසු යුග දේශනාව ද කීම සිරිතක් කරගෙන තිබේ. මහපිරිතෙන් පසු වුව ද පිරිත් ශ්‍රවණය කරන මහජනයා නතර ව සිටින බැවින් මෙසේ යුග දේශනාව පවත්වන බව පෙනේ. පිරිත පේකල දවසේ සිට 3 වන දින රාත්‍රි මහපිරිත කියා සූත්‍ර දේශනාව පවත්වා උදේ මහපිරිත කියා දෙනමක් යුග දේශනාව පවත්වති. නැවත උදේ 9 ට පමණ සංඝයා මණ්ඩපය වටා ගැටගසා විහාර අස්න පටන් ගනියි.

2. විහාර අස්න කියා අවසන් වූ විට දේවාල පත්‍රය හිටගෙන ම ලියා කියවයි. අනික්වා පහසු අන්දමට ලියති.

3. සවස සංඝයා රැස්ව මණ්ඩපය වටා හෝ කොටසක් තිරවලින් ආවරණය කොට දූතයා ගෙන යන දේවාල කද නොහොත් හේමකද බඳියි.

5. අනුශාසනා භික්ෂුව හා දේවදූතයා වැඩමවා දේවාල පෙරහරේ යන අයට පන්සිල් දී 4 පිරිත් පැන් කොතලය, තෙල් මල් ආදී පූජා ද්‍රව්‍ය හේමකද 5 දූතයාට දෙයි.

6. පෙරහැරේ දවුල් ශබ්දය නොඇසෙන තරමට ගමන් කල විට මහ පිරිත කියා පැන් දෙයි. දේවාලයට ගොස් ආපසු පැමිණෙන පෙරහරේ හේවිසි ශබ්දය ඇසෙන විට දක්ෂ දෙනමක් මහාසමය සූත්‍රදේශනාව පටන් ගනිති. 1

## අළුත්කුරු-සියනෑ කෝරළ බද පිරිත

තිස්පැයේ පිරිතෙහි සරසන ලද ධර්ම මණ්ඩපයට පළමු කොට ධාතු කරඬුව සහිත පිරිත් පොත් වහන්සේ ඇතුළු මහාසංඝයා වහන්සේ වැඩමවා ඉක්බිති පිරිත් පැන් ද වැඩමවා පිරිත් හුය ඇද්ද යුතු,

ඊට පසු දායක මහතා සියලු සංඝයා වෙනුවෙන් මහ තෙරුන් වහන්සේලාට දැහැත් වට්ටියක් පිළිගන්වා මෙලොව ආරක්ෂා පිණිසත් පරලොව දෙව් මිනිස් සැප හා නිවන් සැප

පිණිසත් කරුණාවෙන් පිරිත් ධර්මය දේශනා කරන සේක්වා'යි ආරාධනා කළ යුතුයි.

එයින් පසු ව්‍යක්ත තෙර නමක් ධර්මානුශාසනයක් කොට පසවු මල්පැලවල හා කලස්වල පහන් දල්වා දුවඳ දුම් අල්වා හේවිසි කරවා මණ්ඩපයෙහි ලද පස්මල්[6] ඉස පන්සිල් සමාදන් කරවා දේවතාරාධනාව කළ යුතුයි. (අසනීපයකට නම් දේවතාරාධනාව නොකොට පුරන දෙනම ඇණවුම් පිරිත කියා) පසුව පිරිත් පේකොට පිරිත් හුය ගැටගසා හේවිසි කරවා පිරිත් හුය සංඝයා අතට දී මහපිරිත දේශනා කළ යුතුයි.

තිස් පැය **3-5-7** පිරිත් වලදී පළමුසේම ඒ කටයුතු කොට සූත්‍ර කියන දින සවස තෙල්, මල්, පිරිත් පැන් රැගෙන දායක මහතුන් විහාරස්ථානයකට හෝ දේවාලය චෛත්‍ය වෘක්ෂයක් වෙත එළඹ, මල් පහන් පුද හේවිසි කරවා, දෙවියන්ට පින් දී සූත්‍ර දේශනාව හා ආටානාටිය දේශනා ශ්‍රවණයට පැමිණෙන ලෙස දෙවියන්ට ආරාධනා කළ යුතුයි.

සතියේ බණ පිරිත්වල පළමු දින මහාසංඝයා වහන්සේ වැඩම කළ ගෙඩිය ගසා දාන ශාලාවට රැස්කරවා ගිලන්පස පිළිගන්වා අවසන් වූ පසු ප්‍රධාන මහාතෙරුන් වහන්සේ ගේ අවසරය ලෙස ඒ ඒ තනතුරුවලට සංඝයා පත්කොට ආවාස පිළිගන්වා පසුව පස්නමකට නොඅඩු වූ සංඝයා දායක වරුන් සමග විහාරයට ගොස් මල් පහන් පුදා බුදුන් වැඳ දෙවියන්ට පින් දී "මේ පින්කම ඇතුළත කටයුතු කරන මහා සංඝයා හා දායකවරුන් නිරුපද්‍රැතව ආරක්ෂා කරන ලෙස " ආරාධනාවක් ද කෙරෙයි.

ඊට පසුව ධාතු කරඬුව සහිත පිරිත් වහන්සේ විසිතුරු කොට සරසන ලද මණ්ඩපයට වැඩමවා පසුව පිරිත් පැන් ද වැඩමවා පිරිත් හුය ඇද පසුව මහා සංඝයා වහන්සේ හේවිසි, උඩුවියන් සහිතව වැඩමවා ඉක්බිති දායකවරුන් සතියක් පිරිත් ධර්ම දේශනා කරන ලෙස ආරාධනා කළ ඉක්බිති මහතෙරුන් වහන්සේ විසින් පින්කමේ අදහස හා දොරකඩ අස්න, අනුශාසනා දිනයත් දොරකඩ අස්නය සඳහා දේවදූතයකු ගැනත් විචාරා පසු දින අලුයම්හි වතාවත් කරනු පිණිස දේවදූතයා මෙහි ධර්ම මණ්ඩපය ඉදිරිපිට පමුණුවන ලෙස නියම කොට එයින් ව්‍යක්ත තෙර නමක් විසින් ධර්මානුශාසනාවක් කළ යුතුයි.

ඉක්බිති මල්පැල වල හා කලස්වලත් පහන් දල්වා හේවිසි කරවා පසුව පන්සිල් දී කතිකාවතෙහි සඳහන් පරිදි පිරිත පේකොට හේවිසි කරවා පිරිත්හුය සංඝයා අතට දී මහපිරිත් දේශනා කොට අවසන්හි පිරිත්හුය බැඳ සතර දොරටු වෙහි පිරිත් පැන් ඉස බුදුන් වැඳ දොරටු වස්වා මණ්ඩපයෙහි රැකවල් තබා පැමිණිය යුතුයි.

---

1. පිරිත් හුය නොඅදියි. පිරිත පේ කරන දින එය නැත.
2. හතරවන වාරයේ පටන් පිරිත් හුය බැඳ අවසන් වනතෙක් දෙසිය යුතුයි.
3. පිරිතට වැඩම වීමට පෙර බුදුන් වැඳ ඇවැත් දෙසිය යුතුයි.
4. අනුශාසනා කියන භික්ෂුව එහිදී පන්සිල් දීම කළ යුතුයි.
5. හේමකඳ මල් එල්ලූ කොටස ඉස්සර කොට කරේ තබා ගත යුතුයි.
6. විළඳ, සමන්පිච්ච කැකුලුණී ඊතන, අබ, සුන්සහල්, යන පස්වර්ගයයි.

පිරිත පේකළ දිනට පසු අලුයම පිරිත් පිරීමට නියම වූ දෙනම මණ්ඩපයට පැමිණ දේවදූතයා ලව පහන් දල්වා පන්සිල් දී ඔහු ලවා පිරිතට ආරාධනා ගාථා කියවා දේවතාරාධනා කොට නමස්කාරය කියා පොත පටන් ගෙන දසධම්ම සූත්‍රාවසානයෙහි මහ පිරිත් කියා යළිත් යුග පිරිත් පටන් ගත යුතුයි.

මෙසේ නොකඩවා පිරිත කියා හවෙනි දින මණ්ඩපය අලුත් වැඩියා කොට ළද පස් මල් ඉස රාත්‍රි සූත්‍ර දේශනාව පවත්වා හත්වෙනි දින විහාරස්න කියා දේවාලපත් ලියා සවස ගෞරව සමාචාර විධිවලින් දේවාල තල්පත් දේවදූතයා අත යැවිය යුතුයි. දේවාල පෙරහැර පිටත් වූ පසු පළමු දිනයෙහි ආරම්භ කළ තැන සිටම යළිත් "බුද්ධ සරණං ගච්ඡාමි" යන තැන පටන් ගෙන දසධම්ම සූත්‍රය දක්වා කියූ කල මහ පිරිත කියා යුග පිරිත් පටන් ගත යුතුයි. එදින රාත්‍රී සියලු සංඝයා වහන්සේ ධර්ම මණ්ඩපයට වැඩමවා මංගල සූත්‍රය සජ්ඣායනා කොට දොරකඩ අසුන් අනුශාසනා පවත්වා සතර නම බැගින් ආටානාටිය සූත්‍රය දේශනා කොට පසුව දා අලුයම පිරිත අවසන් කළයුතුයි.

මේ සියලු සිරිත් විරිත් බණ පිරිත් කතිකාවතට අනුව සිදුකළ යුතුයි. වෘද්ධ මහාස්ථවිරෝපදේශාශ්‍රයෙන් දැක පුරුද්ද හා කළ පුරුද්දත් මේවා ක්‍රමානුකූලව පවත්වාගෙන යෑමට හේතුවන බව ද සැලකිය යුතුයි.

# උඩරට, හතර කෝරලේ පිරිත් දේශනා කිරීමේදී අනුගමනය කරනු ලබන චාරිත්‍ර විධි :

## තිස්පැයේ පිරිත් දේශනාව

පිරිත් දේශනා කරන ස්ථානයේ මිදුලේ ගෙට මුහුණ ලා සිටින සේ පහන් පැලක් සාදනු ලැබේ. එහි පහන් පහක්ම දල්වනු ලබන්නේ සතරවරම් දෙවිවරුන් හා ගම්භාර දෙවියන් වෙනුවටයි. අනතුරුව වඩා රැබෝවීමට පෙර එනම් රාත්‍රී 7.30 ට පමණ මහා සංඝයා වහන්සේ තිවසට වැඩමවා. දැහැත් ගිලන්පස පිරිත් මණ්ඩපයට වැඩමවනු ලැබේ.

ඉතික්බිතිව පිරිත් පැන් වැඩමවීම සඳහා අලුත් කලයක් රැගෙන හේවිසිකාරයින් සමග එක්තරා පිරිසක් අලුත තැනූ ළිඳ ළඟට ගොස් පැන් පෙරා හේවිසි මධ්‍යයේ උඩු වියනක් අල්වාගෙන පැන් කලය වැඩමවා ගෙනවිත් ලොකු පොල් මලක් පුබුදුවා පැන්කලය තුළට බහා කලය වටේ ගොක්කොළවලින් බැඳ, ඉඩ ඇත්නම් මණ්ඩපය තුළ ඇති මේසය මත කෙළවරක තැන්පත් කරයි. මේසය ඉඩ මදි නම් ටීපෝ එකක් ගෙන එයට සුදු පිරුවටයක් දමා මණ්ඩපයේ ප්‍රධාන දොරටුව පැත්තට පෙනෙනසේ තබා අනතුරුව තුන් නූල්, පිරිත් පොතේ ධාතු කරඬුවේ හා පැන් කලයේ බඳිනු ලැබේ.

අනතුරුව ප්‍රධාන දායක මහතා ලවා මහා සංඝරත්නයට දැහැත් වට්ටියක් පිළිගන්වා, මේ තුන්යම් රාත්‍රිය මුලුල්ලෙහි

පිරිත් දේශනා කිරීම සඳහා වැඳ ගෙන ආරාධනා කරනු ලැබේ.

විපත්තිපටිබාහාය - සබ්බ සම්පත්ති සිද්ධියා
සබ්බ දුක්ඛ විනාසාය - පරිත්තං බ්‍රෑථ මංගලං
විපත්ති පටිබාහාය - සබ්බ සම්පත්ති සිද්ධියා
සබ්බභය විනාසාය- පරිත්තං බ්‍රෑථ මංගලං
විපත්ති පටිබාහාය - සබ්බ සම්පත්ති සිද්ධියා
සබ්බ රොග විනාසාය - පරිත්තං බ්‍රෑථ මංගලං

භික්ෂූන් වහන්සේ නමක් විසින් මේ ගාථා කියවා අවසන් වූවාට පසු පිරිත් අනුශාසනාව අවසන් කර, නිවස ඉදිරියේ තනා ඇති පහන් පැලේ පහන් දල්වා සුවඳ දුම් අල්ලා එයට හේවිසි කරවා, දේවතාරාධනාව කර පිරිත් පේකිරීම පටන් ගනු ලැබේ. ඒ අවස්ථාවේ ම මණ්ඩපය තුළ ද සුවඳ දුම් දීම, කපුරු පත්තුකිරීම හා කලස්වල පහන් දල්වා, පිරිත් පේකිරීම සඳහා මහාසංඝරත්නය නමස්කාරය පටන්ගන්නා විටම ලෙලි ඉවත් කරන ලද පොල් ගෙඩියක් කලින් සූදානම් කර මණ්ඩපයේ ප්‍රධාන දොරටුව අසල බිමට ගෝනියක් හෝ පැදුරක් එලා ඒ මත ලෙලි ඉවත් කරන ලද පොල් ගෙඩිය තබා, ඒ මත පොල්තෙල් වැටියක් දල්වා තබා කැත්තකින් හෝ ලොකු පිහියකින් එක පහරින් බිඳී යනසේ කෙටීම සිදුකරනු ලැබේ.

පිරිත් පේ කිරීම අවසන් වූ පසු මණ්ඩපය ඉදිරියේ මගුල් බෙර හා හේවිසි වාදනය කර මහපිරිත් දේශනය ආරම්භ කරනු ලැබේ. එය අවසන් වූවාට පසු පිරිත් පොත්

දෙක මේසය දෙපැත්තේ තබා එක පැත්තකට දෙනම බැගින් දෙපැත්තට 4 නමක් බැගින් වැඩ හිඳ පිරිත් දේශනාව පටන් ගනු ලැබේ.

පහන් වනවිට මෙසේ පිරිත් පොත සම්පූර්ණයෙන් කියා අවසන් කර සෙත් පිරිත (මහ පිරිත) කියා පිරිස පන්සිල්හි පිහිටුවා පින් අනුමෝදන් කර පිරිත් පැන් දී පිරිත් නූල් බැඳ, අවසන් කරනු ලැබේ.

තුන්වේලේ, හත්වේලේ ආදී පිරිත් වලදී අනෙකුත් ප්‍රදේශවල අනුගමනය කරන චාරිත්‍ර විධි හතරකෝරලයේත් එලෙසම අනුගමනය කරනු ලැබේ.



# බුද්ධ වන්දනාව

# සහ

# බෝධි වන්දනාව

# බුද්ධ වන්දනාව
# සහ
# බෝධි වන්දනාව

නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

බුද්ධං සරණං ගච්ඡාමි
ධම්මං සරණං ගච්ඡාමි
සංඝං සරණං ගච්ඡාමි

දුතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි
දුතියම්පි ධම්මං සරණං ගච්ඡාමි
දුතියම්පි සංඝං සරණං ගච්ඡාමි

තතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි
තතියම්පි ධම්මං සරණං ගච්ඡාමි
තතියම්පි සංඝං සරණං ගච්ඡාමි

පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි
අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාදියාමි
කාමෙසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාදියාමි
මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාදියාමි
පිසුණාවාචා වේරමණී සික්ඛාපදං සමාදියාමි
ඵරුසා වාචා වේරමණී සික්ඛාපදං සමාදියාමි
සම්පප්ඵලාපා වේරමණී සික්ඛාපදං සමාදියාමි
මිච්ඡා-ජීවා වේරමණී සික්ඛාපදං සමාදියාමි

මේ තිසරණ සහිත වූ ආජීව අට්ඨමක සීලය මාර්ගඵල නිවන් පිණිසම හේතු වේවා !

සම්පූරිතා පමිත පාරමිතා බලේන
විද්ධංසියෝ බිල කිලේස සමෝහ ජාලං
තේ තේව ලද්ධ අරහං අරහෝති නාමං
වන්දාමි බුද්ධ මමලං හදයේ ඨපෙත්වා

නමො තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමො තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමො තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

ඉතිපි සෝ භගවා අරහං සම්මා සම්බුද්ධෝ විජ්ජාචරණ සම්පන්නෝ සුගතෝ ලෝකවිදූ අනුත්තරෝ පුරිසධම්ම සාරථී සත්ථා දේව මනුස්සානං බුද්ධෝ භගවාති.

බුද්ධං ජීවිත පරියන්තං සරණං ගච්ඡාමි
යේච බුද්ධා අතීතාච යේච බුද්ධා අනාගතා
පච්චුප්පන්නාචයේ බුද්ධා අහං වන්දාමි සබ්බදා
නත්ථිමේ සරණං අඤ්ඤං බුද්ධෝ මේ සරණං වරං
ඒතේන සච්ච වජ්ජේන හෝතු මේ ජය මංගලං
උත්තමංගේන වන්දේහං පාදපංසු වරුත්තමං
බුද්ධෙයෝ ඛලිතෝ දොසෝ බුද්ධෝ ඛමතුතං මමං

ස්වාක්ඛාතෝ භගවතා ධම්මෝ සන්දිට්ඨිකෝ අකාලිකෝ ඒහි පස්සිකෝ ඕපනයිකෝ පච්චත්තං වෙදිතබ්බෝ විඤ්ඤූහීති.

ධම්මං ජීවිත පරියන්තං සරණං ගච්ඡාමි
යේච ධම්මා අතීතාච යේච ධම්මා අනාගතා
පච්චුප්පන්නාච යේ ධම්මා අහං වන්දාමි සබ්බදා
නත්ථිමේ සරණං අඤ්ඤං ධම්මෝ මේ සරණං වරං
ඒතේන සච්චවජ්ජේන හෝතු මේ ජය මංගලං
උත්තමංගේන වන්දේහං ධම්මංච තිවිධෝත්තමං
ධම්මේයෝ ඛලිතොදෝසෝ ධම්මෝ ඛමතුතං මමං

සුපටිපන්නෝ භගවතෝ සාවක සංඝෝ -
උජුපටිපන්නෝ භගවතෝ සාවක සංඝෝ
ඤායපටිපන්නෝ භගවතෝ සාවක සංඝෝ
සාමීචිපටිපන්නෝ භගවතෝ සාවක සංඝෝ
යදිදං චත්තාරි පුරිසයුගානි අට්ඨපුරිසපුග්ගලා
ඒස භගවතෝ සාවක සංඝෝ, ආහුණෙය්‍යෝ
පාහුණෙය්‍යෝ දක්ඛිණෙය්‍යෝ අඤ්ජලිකරණීයෝ
අනුත්තරං පුඤ්ඤක්ඛෙත්තං ලොකස්සාති.

සංඝං ජීවිත පරියන්තං සරණං ගච්ඡාමි
යේච සංඝා අතීතාච යේච සංඝා අනාගතා
පච්චුප්පන්නාචයේ සංඝා අහං වන්දාමි සබ්බදා
නත්ථි මේ සරණං අඤ්ඤං සංඝෝ මේ සරණං වරං
ඒතේන සච්ච වජ්ජේන හෝතු මේ ජය මංගලං
උත්තමංගේන වන්දේහං සංඝං ච තිවිධං වරං
සංඝෙයෝ ඛලිතෝදෝසෝ සංඝෝ ඛමතුතං මමං

දුක්ඛේ ඤාණං බුද්ධ ඤාණං
දුක්ඛ සමුදයේ ඤාණං බුද්ධ ඤාණං
දුක්ඛ නිරෝධේ ඤාණං බුද්ධ ඤාණං
දුක්ඛ නිරෝධගාමිණී
පටිපදාය ඤාණං බුද්ධ ඤාණං
අත්ථ පටිසම්භිදේ ඤාණං බුද්ධ ඤාණං
ධම්ම පටිසම්භිදේ ඤාණං බුද්ධ ඤාණං
නිරුක්ති පටිසම්භිදේ ඤාණං බුද්ධ ඤාණං
පටිභාන පටිසම්භිදේ ඤාණං බුද්ධ ඤාණං

ඉන්ද්‍රිය පරෝපරියත්තේ ඤාණං බුද්ධ ඤාණං
ආසයානුසයේ ඤාණං බුද්ධ ඤාණං
යමක පාටිහාරියේ ඤාණං බුද්ධ ඤාණං
මහාකරුණා සමාපත්තියා ඤාණං බුද්ධ ඤාණං
සබ්බංඤුත ඤාණං බුද්ධ ඤාණං
අණාවරණ ඤාණං බුද්ධ ඤාණං

ඉමේහි බුද්ධ ඤාණේහි සමත්තාගතං සම්මා සම්බුද්ධං
තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි අරහං අරහං වත සෝ භගවා
අරහං තං සරණං ගච්ඡාමි අරහං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි සම්මා සම්බුද්ධෝ සම්මා සම්බුද්ධෝ
වත සෝ භගවා
සම්මා සම්බුද්ධං තං සරණං ගච්ඡාමි සම්මා සම්බුද්ධං
තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි විජ්ජාචරණ සම්පන්නෝ විජ්ජාචරණ සම්පන්නෝ වත සෝ භගවා විජ්ජාචරණ සම්පන් නං තං සරණං ගච්ඡාමි විජ්ජාචරණ සම්පන්නං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි සුගතෝ සුගතෝ වත සෝ භගවා සුගතං තං සරණං ගච්ඡාමි සුගතං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි ලෝකවිදූ වත සෝ භගවා ලෝක විදූං තං සරණං ගච්ඡාමි ලෝකවිදූං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි අනුත්තර පුරිසධම්ම සාරථී අනුත්තර පුරිසධම්ම සාරථී වත සෝ භගවා අනුත්තර පුරිසධම්ම සාරථීං තං සරණං ගච්ඡාමි අනුත්තර පුරිසධම්ම සාරථීං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි සත්ථා දේවමනුස්සානං සත්ථා දේව මනුස්සානං වත සෝ භගවා සත්ථා දේවමනුස්සානං තං සරණං ගච්ඡාමි සත්ථා දේව මනුස්සානං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි බුද්ධෝ බුද්ධෝ වත සෝ භගවා බුද්ධං තං සරණං ගච්ඡාමි බුද්ධං තං සිරසා නමාමි

සෝ භගවා ඉතිපි භගවා භගවා වත සෝ භගවා භගවන්තං සරණං ගච්ඡාමි භගවන්තං සිරසා නමාමි

මාගේ ස්වාමී වූ බුදුරජාණන්වහන්සේ කෙලෙසුන් කෙරෙන් දුරුවූ සේක. කෙලෙස් සතුරන් නැතිකළ සේක. සියලු පාපයන්ගෙන් මිදුන සේක. රහසින්වත් පව් නොකළ සේක. සියලු ලෝ වැසියන්ගේ ආමිස පූජා ප්‍රතිපත්ති පූජා සියල්ලටම සුදුසුවන සේක.

බුදුරජාණන්වහන්සේගේ දාන පාරමිතාව මහා ආශ්චර්‍ය්‍යය. පාරමී පූරණ සමයේ

අඹුදරුවන් දන් දුන් සේක
මහා රාජ්‍ය දන් දුන් සේක
ඇස් උපුටා දන් දුන් සේක

බුදුරජාණන්වහන්සේගේ කරුණා ගුණය මහා ආශ්චර්‍ය්‍යය. කෝටියක් මව්වරුන්ගේ කෝටියක් පියවරුන්ගේ කරුණා ගුණය එක පිඩක් කළද බුදුරජාණන්වහන්සේගේ කරුණා ගුණයට උපමා කළ නොහැක.

මෙසේ අනන්ත වූ අප්‍රමාණ ගුණ ඇත්තාවූ බුදුරජාණන්වහසේ මහා භාග්‍ය ඇති සේක. බුදුරජාණන්වහන්සේ සැරියුත් තෙරුන් වැනි වූ වැඩිමහල් වූ පුතනු කෙනෙකුන් ලද සේක.

බුදුරජාණන්වහන්සේ මුගලන් තෙරුන් වැනිවූ
සෘද්ධිබල ඇත්තාවූ පුතනු කෙනෙකුන් ලද සේක.
බුදුරජාණන්වහන්සේ මහා කාශ්‍යප
තෙරුන්වැනිවූ ධූ තංගධාරීවූ පුතනු කෙනෙකුන්
ලද සේක.
බුදුරජාණන්වහන්සේ උපාලි තෙරුන් වැනිවූ
විනය දම් දත්තාවූ පුතනු කෙනෙකුන් ලද සේක
බුදුරජාණන්වහන්සේ රාහුල තෙරුන් වැනිවූ
සුවච කීකරුවූ පුතනු කෙනෙකුන් ලද සේක.
බුදුරජාණන්වහන්සේ කුමාරකස්සප තෙරුන්
වැනිවූ මිහිරි හඬින් දම් දෙසනා පුතනු
කෙනෙකුන් ලද සේක.
බුදුරජාණන්වහන්සේ අනද තෙරුන් වැනි වූ
උපස්ථායකවූ පුතනු කෙනෙකුන් ලද සේක.
බුදුරජාණන්වහන්සේ අනේපිඬු සිටු වැනිවූ මහ
උවසුවන් ලද සේක
බුදුරජාණන්වහන්සේ විශාඛා වැනිවූ මහ
උවැසියන් ලද සේක
බුදුරජාණන්වහන්සේ සක්දෙව් රජු වැනිවූ ගෝල
බාලයින් ලද සේක
බුදුරජාණන්වහන්සේ බුද්ධත්වය වැනි වූ
සම්මාන තනතුරු ලද සේක

මෙසේ අනන්ත වූ අප්‍රමාණ ගුණ ඇත්තවූ, අසමවූ, අසම සමවූ, දෙවියන්ට දෙවිවූ, මටම ස්වාමිවූ, මගේම බුදු මැණියන් වූ, මගේම බුදු පියාණන් වූ, මොහඳුරට ළහිරු මඩලක්වූ, කෙලෙස් ගින්නට මහා මේඝයක්වූ, ගමනින් ශාන්තවූ, පැවැත්මෙන් සංවරවූ, අනාථ නාථවූ, අසරණ සරණවූ, අග්‍රදක්ෂිණෙය්‍යවූ බුදුරජාණන් වහන්සේට

| | |
|---|---|
| මේ පහන් පූජා කරමි | පූජා වේවා |
| මේ සුවඳ දුම් පූජා කරමි | පූජා වේවා |
| මේ සුවඳ මල් පූජා කරමි | පූජා වේවා |
| මේ සිසිල් පැන් පූජා කරමි | පූජා වේවා |
| මේ ගිලන්පස පූජා කරමි | පූජා වේවා |
| මේ දැහැත් පූජා කරමි | පූජා වේවා |

මේ සියලූ පූජාවෝ නිර්වාණ ශාන්තිය පතා සංසාර දුකින් අත්මිදීමපතා බුදුරජාණන්වහන්සේට පූජා කරමි.

**පූජා වේවා ! පූජා වේවා !! පූජා වේවා !!!**

නමාමි සුගතං බුද්ධං ලෝක ජෙට්ඨං නරාසභං
නමාමි සුගතං ධම්මං නිය්‍යාණිකං සුදේසිතං
නමාමි සුගතං සංඝං පුඤ්ඤක්ඛෙත්තං අනුත්තරං,
නමාමි සුගතං බොධිං අස්වත්ථං ලෝක පූජිතං

විත තණ්හං වීත දෝසං වීත මෝහං අනාසවං
වන්දේ නිපුණ සම්බුද්ධං අනන්තනය දේසිතං

වන්දාමි චේතියං සබ්බං සබ්බඨානේසු පතිට්ඨිතං
සාරීරික ධාතු මහා බොධිං බුද්ධ රූපං සකලං සදා

මහියංගණං නාගදීපං කල්‍යාණං පද ලාඤ්ඡනං
දිවාගුහං දීඝවාපි ච චේතියං ච මුතිංගණං
තිස්ස මහා විහාරං ච බෝධිං මරිචවට්ටියං
සොණ්ණමාලී මහාචේතිං ථූපාරාම භයාගිරිං
ජේතවනං සේල චෙතියං තථා කාචර ගාමකං
ඒතේ සෝළස ඨානානි අහං වන්දාමි මුද්ධනා/සබ්බදා

ඝනසාරප්ප දිත්තේන දීපේන තමධංසිනා
තිලෝක දීපං සම්බුද්ධං පූජයාමි තමොනුදං

සුගන්ධිකාය වදනං අනන්ත ගුණ ගන්ධිනං
සුගන්ධිනාහං ගන්ධේන පූජයාමි තථාගතං

වර්ණගන්ධ ගුණෝපේතං එතං කුසුම සන්තතිං
පූජයාමි මුනින්දස්ස සිරිපාද සරෝරුහේ.

සුගන්ධං සීතලං කප්පං පසන්න මධුරං සුභං
පානීය මේතං භගවා පතිගණ්හාතු මුත්තමං

සුදු බුදුරුස් දහරින් ලොව තාවා
බුදු හාමුදුරුවො හොඳ බණ කීවා
පුද මී පහන් මම සිරිපද ගාවා
බිඳ බව දුක සැනසුම හිමි වේවා

මේ මල් මෙන් සිත පිරිසිදු වේවා
මේ මල් මෙන් කය ගැන වැට හේවා
මේ මල් මුනිඳුට පූජා වේවා
මේ මල් සේ නිවනට යොමු වේවා

ගුණ දම් රස අපමණ බව දනිමි
තිබඳ අමා ගුණ සයුරේ ගිලෙමි
මහද සිසිල් ගඳකිළියක් කරමි
සුවඳ දුමින් මගෙ බුදු හිමි පුදමි

අධිවාසේතුනෝ භන්තේ ගිලාන පච්චයං ඉමං
අනුකම්පං උපාදාය පතිගණ්හාතු මුත්තමං

අධිවාසේතු නෝ භන්තේ තාම්බූලං පරිකප්පිතං
අනුකම්පං උපාදාය පතිගණ්හාතු මුත්තමං

කායේන වාචා චිත්තේන පමාදේන මයා කතං
අච්චයං ඛමමේ භන්තෙ භූරිපඤ්ඤ තථාගත

කායේන වාචා චිත්තේන පමාදේන මයා කතං
අච්චයං ඛමමේ ධම්ම සන්දිට්ඨික අකාලික

කායේන වාචා චිත්තේන පමාදේන මයා කතං
අච්චයං ඛමමේ සංඝ සුපටිපන්න අනුත්තර

අනන්ත සසර පටන් මේ මොහොත දක්වා මාගේ සිත, කය වචන යන තිදොරින් සිදුවුනා වූ සියළු දෝෂයනට බුද්ධ රත්නයෙන්ද, ධම්මරත්නයෙන්ද, සංඝ රත්නයෙන්ද මට සමාව ලැබේවා !

දෙවනුවද මට සමාව ලැබේවා !!
තෙවනුවද මට සමාව ලැබේවා !!!

යස්සමූලේ නිසින්නෝ ව සබ්බාරි විජයං අකා
පත්තෝ සබ්බඤ්ඤුතං සත්ථා වන්දේතං බෝධි පාදපං
ඉමේ ඒතෙ මහා බෝධි ලෝක නාථේන පූජිතා
අහම්පිතේ නමස්සාමි බෝධි රාජා නමත්ථු තේ.

රත්වන් පාටින් දළු ලන බෝධිය
තිල්වන් පාටින් කොල ලන බෝධිය
ගෞතම මුනිඳුන් පිට දුන් බෝධිය
අපිත් වඳිමු ජයසිරි මහ බෝධිය

දඹදිව් තලයේ හටගත් බෝධිය
සිරිලංකාවට වැඩමෙව් බෝධිය
ගෞතම මුනිඳුන් පිට දුන් බෝධිය
අපිත් වඳිමු ජයසිරි මහ බෝධිය

දඹදිව්තලයේ හටගත් බෝධිය
සඟමිත් තෙරණින් ගෙනවැඩි බෝධිය
ගෞතම මුනිඳුන් පිටදුන් බෝධිය
අපිත් වඳිමු ජයසිරි මහ බෝධිය

දඹදිව්තලයේ හටගත් බෝධිය
මහමෙව්නාවේ රෝපිත බෝධිය
ගෞතම මුනිඳුන් පිටදුන් බෝධිය
අපිත් වඳිමු ජයසිරි මහ බෝධිය

දෙව්ලොව දෙවියන් පුදකළ බෝධිය
නාලොව සතියක් පුද ලද බෝධිය
දෙනෝදහක් දෙන වඳිනා බෝධිය
අපිත් වඳිමු ජයසිරි මහ බෝධිය

මම මේ මළුවට යනවා එනවා
බෝමුල් බෝපත් මට පෑගෙනවා
සමාව දී මගෙ පව් අර වනවා
බෝ රජුනේ මට අවසර දෙනවා

උඩ මළුවේ බෝ රජු වැජඹෙනවා
දෙවැනි මළුවෙ මල් පහන් දිලෙනවා
වැලි මළුවේ මහ සෙනඟ වඳිනවා
මතු මත්තේ අපි නිවන් දකිනවා

පුන්සඳ මෙන් කඳු මුදුනෙන් දිස්වෙන
රංවන් සිවුරක් පොරවා රූස්දෙන
තුන් ලොවටම මෙත් කරුණා වස්සන
අන්න බලන් බුදු සමිඳුගෙ ලස්සන

සම්මා සම්බුදු සමිඳුගෙ මූනේ
ලස්සන වෙන කිසි මලකත් නැතේ
අපි පුද දෙන මල් මිටි මිටි ගානේ
සමිඳුගෙ ඉදිරියෙ පරවෙන වානේ

නෙත සැනසිල්ල බුදු හිමි රුව දැකීමය
ගත සැනසිල්ල බුදු හිමි හට වැඳීමය
සිත සැනසිල්ල බුදු හිමි ගුණ සිතීමය
භව සැනසිල්ල හිමි ගත් මඟ ගැනීමය

කරදරමයි ජීවිතයක හැමදා ම
මරණයටයි ටික ටිකවත් ළංවී ම
පින පමණයි තරමකවත් සෑහී ම
නිවණතමයි අපි කාටත් සැනසී ම

බුදු ගුණ අරහං නව ගුණ වේවා
අරහං නව ගුණ හද තුළ වේවා
මරණෙදීමට කිසි බියක් නො වේවා
මරණෙදී බුදු ගුණ මට සිහි වේවා

යමෙක් ලොවේ සුවපත් වූවෝනම් ඒ හැම බුදු හිමි
සරණ ගියෝ
යමෙක් ලොවේ සුවපත් වූවෝනම් ඒ හැම සදහම්
සරණ ගියෝ
යමෙක් ලොවේ සුවපත් වූවෝනම් ඒ හැම මහසඟ
සරණ ගියෝ
යමෙක් ලොවේ සුවපත් වූවෝනම් ඒ හැම තිසරණ
සරණ ගියෝ

යමෙක් වනාහී දුක් නැසුවෝනම් ඒ හැම බුදු හිමි
සරණ ගියෝ
යමෙක් වනාහී දුක් නැසුවෝනම් ඒ හැම සදහම්
සරණ ගියෝ
යමෙක් වනාහී දුක් නැසුවෝනම් ඒ හැම මහසඟ
සරණ ගියෝ
යමෙක් වනාහී දුක් නැසුවෝනම් ඒ හැම තිසරණ
සරණ ගියෝ

සව්සත බුදු හිමි සරණ ගොසින් හැම දුකින් මිදී
සුවපත් වේවා
සව්සත සදහම් සරණ ගොසින් හැම දුකින් මිදී
සුවපත් වේවා
සව්සත මහසඟ සරණ ගොසින් හැම දුකින් මිදී
සුවපත් වේවා
සව්සත තිසරණ සරණ ගොසින් හැම දුකින් මිදී
සුවපත් වේවා

සිතක් සිතක් පාසා ඉවසිලි වේවා
ගෙයක් ගෙයක් පාසා සැනසිලි වේවා
ගමක් ගමක් පාසා සමගිය වේවා
රටක් රටක් පාසා සුවසෙත වේවා



# කරණීය මෙත්ත සුත්තං

1. කරණීයමත්ථ කුසලේන
යං තං සන්තං පදං අභිසමෙච්ච
සක්කෝ උජූ ච සුහුජූ ච
සුවචෝ චස්ස මුදු අනතිමානී.

2. සන්තුස්සකෝ ච සුභරෝ ච
අප්පකිච්චෝ ච සල්ලහුකවුත්ති
සන්තින්ද්‍රියෝ ච නිපකෝ ච
අප්පගබ්භෝ කුලේසු අනනුගිද්ධෝ.

3. න ච ඛුද්දං සමාචරේ කිඤ්චි
යේන විඤ්ඤූ පරේ උපවදෙය්‍යුං
සුඛිනෝ වා ඛේමිනෝ හොන්තු
සබ්බේ සත්තා භවන්තු සුඛිතත්තා.

4. යේ කේචි පාණභූතත්ථි
තසා වා ථාවරා වා අනවසේසා
දීඝා වා යේ මහන්තා වා
මජ්ඣිමා රස්සකාණුකථූලා.

5. දිට්ඨා වා යේව අද්දිට්ඨා
යේ ච දූරේ වසන්ති අවිදූරේ
භූතා වා සම්භවේසීවා
සබ්බේ සත්තා භවන්තු සුඛිතත්තා.

6. න පරෝ පරං නිකුබ්බේථ
නාතිමඤ්ඤේථ කත්ථචි නං කඤ්චි
බ්‍යාරෝසනා පටිඝසඤ්ඤා
නාඤ්ඤමඤ්ඤස්ස දුක්ඛමිච්ඡෙය්‍ය.

7. මාතා යථා නියංපුත්තං
ආයුසා ඒකපුත්තමනුරක්ඛේ
ඒවම්පි සබ්බභූතේසු
මානසං භාවයේ අපරිමාණං

8. මෙත්තං ච සබ්බලෝකස්මිං
මානසං භාවයේ අපරිමාණං
උද්ධං අධෝ ච තිරියඤ්ච
අසම්බාධං අවේරං අසපත්තං.

9. තිට්ඨං චරං නිසින්නෝ වා
සයානෝ වා යාවතස්ස විගතමිද්ධෝ
ඒතං සතිං අධිට්ඨෙය්‍ය
බ්‍රහ්මමේතං විහාරං ඉධමාහු.

10. දිට්ඨිඤ්ච අනුපගම්ම සීලවා
දස්සනේන සම්පන්නෝ
කාමේසු විනෙය්‍ය ගේධං
නහි ජාතු ගබ්භසෙය්‍යං පුනරේතීති.

එත්තාවතාච අම්හේහි සම්භතං පුඤ්ඤසම්පදං
සබ්බේ දේවා අනුමෝදන්තු සබ්බ සම්පත්ති සිද්ධියා

ආකාසට්ඨා ච භුම්මට්ඨා දේවා නාගා මහිද්ධිකා
පුඤ්ඤං තං අනුමෝදිත්වා චිරං රක්ඛන්තු සාසනං

සම්බුද්ධ සාසනවරං යතිපුංගවංච සම්පාලනාය
පටිලද්ධ වරෝයසස්සී
පුඤ්ඤානි මානි අනුමෝදිය වාසුදේවෝ පාලේතුමං
සතත සාත හිතා වහන්තෝ

සම්බුද්ධ සාසන වරං ඉධ රෝහණස්මිං සම්පාලනාය
පටිලද්ධ වරෝ මහිද්ධී
පුඤ්ඤානුමෝදිය සලානන දේව රාජා පාලෙතු මං
සතත සාත හිතාවහන්තෝ

සම්බුද්ධපාද වරලඤ්චන සෝභිතම්හි වාසෝ සමන්ත
ගිරිමුද්ධනිදේව රාජා
පුඤ්ඤානුමෝදිය ඉදං සුමනාභිධානෝ පාලේතුමං
සතත සාත හිතා වහන්තෝ

ඉදං මේ ඤාතීනං හෝතු සුඛිතා හොන්තු ඤාතයෝ
ඉදං මේ ඤාතීනං හෝතු සුඛිතා හොන්තු ඤාතයෝ
ඉදං මේ ඤාතීනං හෝතු සුඛිතාහොන්තුඤාතයෝ
ඉදං මේ පුඤ්ඤං ආසවක්ඛයා වහං හෝතු
ඉදං මේ පුඤ්ඤං ආසවක්ඛයා වහං හෝතු
ඉදං මේ පුඤ්ඤං ආසවක්ඛයා වහං හෝතු

මා විසින් රැස්කළාවූ සීලමය, වන්දනාමය, බුද්ධ පූජාමය, බෝධිවන්දනාමය, සුවිසිගුණ මනසිකාරමය සියලූ පුණ්‍ය ධර්මයෝ මාගේ දෙමාපියන්ටද, මාගේ ගුරුවරුන්ටද, මාගේ වැඩිහිටියන්ටද, සියළු දෙනාටද අයිති වෙත්වා ! මමද සියල්ලන්ගේම සියළු පුණ්‍ය ධර්මයන් සාදර ගෞරවයෙන් ආදර භක්තියෙන් අනුමෝදන් වෙමි. මටද මේ සියළු පින් බලයෙන් ජරා මරණාදී සංසාර දුකින් අත්මිදී නිර්වාණ සුවයම අවබෝධ වේවා ! නිවන් දකිම්වා !



# ශ්‍රී ලංකා ධර්ම චක්‍ර ළමා පදනම

අත්හළ, අසරණ, අනාථ ළමයින් සියලු දෙනාටම නොහැකි වුවත් සුළු පිරිසකට හෝ රැකවරණය ලබාදීමේ කාරුණික, පින්බර හැඟීමෙන්, තායිවානයේ ප්‍රධාන සංඝනායක ත්‍රිපිටකවේදී බෝදාගම චන්ද්‍රිම නාහිමියන් විසින් බණ්ඩාරගම, විදාගම අක්කර 13 ක පමණ නිසංසල, රමණීය බිම් පියසෙක ධර්ම චක්‍ර ළමා පදනම ඇරැඹිණි. මෙම ළමා නිවාසය ප්‍රධාන කොට දැනට කෝටි දෙකකට ආසන්න මිල මුදල් වැය කොට ගොඩනැගිලි සංකීර්ණයක් ඉදිවී ඇත. මෙහි ළමයින් 100 කට පමණ පහසුකම් සහිතව ජීවත් වීමට ළමා නේවාසිකාගාරයක්, කෑම ශාලාවක්, පුස්තකාලයක්, කියවීම් ශාලාවක්, මුළුතැන්ගෙයක් හා ශ්‍රවණාගාරයක් ද, බොදු සිත් සතන් පහන් කරවන බුරුමයේ සිට වැඩම වූ ශ්‍රී ලංකාවේ දී අතිශය දුර්ලභව දිටිය හැකි කිරිගරුඬ සමාධි බුදු පිළිම වහන්සේ සහිත රමණීය බුදු මැදුරක් සහ පරිපාලන ඒකකයන්ද ගොඩනගා ඇත.

පුණ්‍යායතනයක් ලෙස පාර්ලිමේන්තු පනතකින් සංස්ථාගත කරන ලද, ධර්ම චක්‍ර ළමා පදනම යටතේ පාලනය වන පරිවාස හා ළමා රක්ෂක දෙපාර්තමේන්තුවේ ලියාපදිංචි ළමා නිවාසයක් වන මෙහි පළමු අදියර උදෙසා පිළිසරණ විය යුතු පිරිමි ළමයින් 50 ක් පමණ නේවාසික වීමට කටයුතු යොදා ඇති අතර පියවරින් පියවර ඉදිරියේදී ළමයින් 100 දක්වා බඳවා ගැනීමට අදහස් කර තිබේ. මෙම දරුවන්ගේ ආහාරපාන, ඇඳුම්, පැළඳුම්, සෞඛ්‍ය, ක්‍රීඩා හා සෞන්දර්ය කටයුතු සඳහා අවශ්‍ය සියලු පහසුකම් ආයතනය විසින් සපයා දී ඇත. ළමයින් පිළිබඳ සැබෑ සෙනෙහසින් හා සුරක්ෂිතව කටයුතු කළ හැකි අධීක්ෂණ මට්ටමේ උපදේශක මණ්ඩලයක් හා කාර්ය මණ්ඩලයක් මගින් ආයතනික වැඩසටහන් දෛනිකව ක්‍රියාත්මක කෙරේ.

පාසල් යන වයසේ පසුවන ළමයින් සියලු දෙනාම විධිමත් පාසල් අධ්‍යාපනයේ නියැලී සිටින අතර ඔවුන්ගේ දක්ෂතාව අනුව අනාගතයේදී වෘත්තීය පුහුණුවීම් ලබාදීමට හා උසස් අධ්‍යාපනය සඳහා යොමු කිරීමෙනුත්, පසුහාර වැඩසටහන් වලින් අහිමි සම්පත් පිළිබඳ පසුතැවිලි වීමට ඉඩ නොතබා උරුම සම්පතින් පුනර්ජීවනය ලබා රටට දැයට වැඩදායක දයාව, අනුකම්පාව අගයන ගුණගරුක විනීත පුරවැසියන් පිරිසක් බිහි කරලීම ආයතනයේ අපේක්ෂාවයි.

# ශ්‍රී ලංකා ධර්ම චක්‍ර ළමා පදනමේ පරමාර්ථ

- ශ්‍රී ලංකාවේ වරප්‍රසාද අඩු ළමයින්ගේ සමාජීය, අධ්‍යාපනික හා සංස්කෘතික වර්ධනය උදෙසා කටයුතු කිරීම.
- විශේෂයෙන්ම දිළිඳු, අනාථ සහ රෝගී තැනැත්තන්ට සහන, පෝෂ්‍යාහාර, ඇඳුම් පැළඳුම් හා නිවාස සැපයීම.
- සාමාන්‍ය ජනතාවගේ ශාරීරික, ආධ්‍යාත්මික සහ සමාජ සුභ සාධනය වැඩි දියුණු කිරීම.
- සංස්ථාවේ පරමාර්ථ ඉටුකර ගැනීමේ කාර්යය සඳහා කෙළින්ම හෝ වෙනත් සංවිධාන සමග සහයෝගිතාවයෙන් ආයතන පිහිටුවා පවත්වා ගෙන යාම.
- සංස්ථාවේ පරමාර්ථ හා සමාන පරමාර්ථ දරන, ශ්‍රී ලංකාවේ හෝ විදේශ රටවල පිහිටි වෙනත් ආයතන සමග සම්බන්ධතා පවත්වාගෙන යෑම.
- ජාතීන් අතර සමගිය, ජාත්‍යන්තර මිත්‍රත්වය හා අවබෝධය නංවාලීම, ප්‍රවර්ධනය කිරීම හා දිරි ගැන්වීම හා තරුණ තරුණියන් අතර විනය හා ආත්ම විශ්වාසය පිළිබඳ හැඟීමක් ඇති කිරීම.
- ථෙරවාදී බෞද්ධ දර්ශනය හා ජීවන මාර්ගය ආරක්ෂා කිරීම හා පතළ කිරීම.
- ශ්‍රී ලංකාවේ තරුණ තරුණියන්ට වෘත්තීය හා අධ්‍යාපන පාඨමාලා පැවැත්වීම.
- තරුණ තරුණියන් ස්වයං රැකියාවල යෙදිය හැකි අන්දම පිළිබඳව ඔවුන් පුහුණු කිරීම සහ ප්‍රයෝජනවත් පුරවැසියන් වශයෙන් ස්ථාපනය වීම පිණිස ඔවුන්ට මුදලින් හෝ අන්‍යාකාරයකින් සහාය වීම.
- සංස්ථාවේ පරමාර්ථ වැඩි දියුණු කිරීමෙහිලා නිරතව සිටින භික්ෂූන් වහන්සේලාට, ස්වේච්ඡා සේවකයින්ට හා තරුණ තරුණියන්ට ශිෂ්‍යත්ව පිරිනැමීමෙන්, මුදලින් හෝ අන්‍යාකාරයකින් ආධාර කිරීම.
- සංස්ථාවේ පරමාර්ථ වැඩි දියුණු කිරීමෙහිලා ප්‍රදර්ශන, දේශන, සම්මන්ත්‍රණ, සාකච්ඡා, වැඩමුළු, පංති, විවාද, සම්මේලන හෝ වෙනත් කටයුතු ප්‍රවර්ධනය කිරීම, පිළියෙල කිරීම, සංවිධානය කිරීම හා පැවැත්වීම.
- පරිසරය ආරක්ෂා කිරීම සහ කළමනාකරණය කිරීම හා සම්බන්ධ කවර හෝ අංශයකට අදාළව, උපමාන ප්‍රවර්ධනය කිරීම, භාර ගැනීම හා ක්‍රියාත්මක කිරීම.

ඉහත සඳහන් පරමාර්ථ මුදුන්පත් කර ගැනීම පිණිස අවශ්‍ය හිතකර හෝ ඒවාට ආනුශංගික වෙනත් සියලු ක්‍රියා කිරීම.

# අනාගතය
# දුර දක්නා නුවණින් ගොඩනංවමු
# අපේක්ෂා මල් ඵල ගන්වමින්.

1. දිවා සුරැකුම් මධ්‍යස්ථානයක්.
2. අසරණ දක්ෂ සිසුන් උදෙසා ශිෂ්‍යත්ව ක්‍රමයක්.
3. විදේශ භාෂා පුහුණු ඒකකයක්.
4. සිවුසැට කලා කුශලතා වර්ධනය කිරීමේ ව්‍යාපෘතියක්.
5. පෙර පාසලක්.
6. වැඩිහිටියන්ට රැකවරණය සැලසීමේ ආයතනයක්.
7. වෘත්තීය පුහුණු පාඨමාලාවක්.

# DEDICATION OF MERIT

May the merit and virtue
accrued from this work
adorn Amitabha Buddha's Pure Land,
repay the four great kindnesses above,
and relieve the suffering of
those on the three paths below.
May those who see or hear of these efforts
generate Bodhi-mind,
spend their lives devoted to the Buddha Dharma,
and finally be reborn together in
the Land of Ultimate Bliss.
Homage to Amita Buddha!

**NAMO AMITABHA**

**南無阿彌陀佛**

【斯里蘭卡巴利文課誦本（增訂版）】

財團法人佛陀教育基金會 印贈
台北市杭州南路一段五十五號十一樓

Printed and donated for free distribution by

**The Corporate Body of the Buddha Educational Foundation**

11F., 55 Hang Chow South Road Sec 1, Taipei, Taiwan, R.O.C.
Tel: 886-2-23951198 , Fax: 886-2-23913415
Email: overseas@budaedu.org
Website:http://www.budaedu.org



Printed in Taiwan
6,000 copies; February 2014
SR030-12012

